# නගරූපම සූත්‍රය

ගරුතර මහා සංඝ රත්නයෙන් අවසරයි.ශ්‍රද්ධාවන්ත පින්වතුනි,අද උදෑසන අපි ශ්‍රවණය කලේ,ලෞකික සම්මා දිට්ඨියට පත්වීම පිණිස ශ්‍රද්ධාව,ප්‍රඥාව උපකාර කරගන්න ආකාරය ගැන.නියත මිත්‍යා දෘෂ්ටියේ තියෙන භයානක කමත්,එයින් අතමිදීමේ තියෙන රැකවරණය ගැනත්.

ඒ වගේම තමයි ලෞකික සම්මා දිට්ඨියට පත්වෙන්න යම්කිසි ශ්‍රාවකයෙක් මහන්සි ගන්නවා නම්,ඒ ශ්‍රාවකයාට ශ්‍රද්ධාවත් සමඟ චාගය,සීලය,සෘතය දියුණු කර ගනිමින් වුනත් මේ ලෞකික සම්මා දිට්ඨිය ඇතිකරගන්න පුළුවන්කම තියෙනවා.

බුදු රජාණන් වහන්සේ කෙරෙහි ශ්‍රද්ධාව ඇතිකරගත්ත ශ්‍රාවකයා බුදු රජාණන් වහන්සේ වදාළ ආකාරයට සීලයක් මත පිහිටලා,බුදු රජාණන් වහන්සේ වදාළ ධර්මය ශ්‍රවණය කරන කොට ,සීලයත්, ශ්‍රුතය එනම් දහම් දැනුමත් ගොඩ නැගෙනවා.සීලයත් ,දහම් දැනුමත් ගොඩ නැගෙද්දී ,ශ්‍රද්ධාවන්ත ශ්‍රාවකයා දැනගන්නවා බුදු රජාණන් වහන්සේ දානය වර්ණනා කරලා තියෙනවා කියලා.බුදු රජාණන් වහන්සේ ඇප-උපස්ථානය වර්ණනා කරලා තියෙනවා කියලා.පුද පූජාවේ විපාක ගැන කියලා තියෙනවා කියලා දැනගන්න ලැබෙනවා.කර්ම-කර්ම පල ගැන බුදු රජානාන් වහන්සේ පෙන්වලා දීලා තියෙනවා කියලා .මව-පියා ගැන බුදු රජාණන් වහන්සේ කියල දීලා තියෙනවා කියල දැනගන්න ලැබෙනවා. මෙලොවක් ගැන, පරලොවක් ගැන,ඕපපාතික උපත් ගැන, නිරය, ප්‍රේත ලෝක, දිවය ලෝක, බ්‍රහ්ම ලෝක, වගේ ඒ ගැන තියෙන දේශනා එක්ක බුදු රජාණන් වහන්සේ මේවා කියලා දීලා තියෙනවා කියලා දැනගන්න ලැබෙනවා.

ඒ වගේම බුදු රජාණන් වහන්සේගේ ධර්මයෙන් දැනගන්න ලැබෙනවා,ධර්මය සරණ ගිය අෂ්ඨාර්ය පුද්ගල මහා සංඝ රත්නයත්,ඒ වගේම නොයෙක් හැකියාවන් සහිත ශ්‍රාවක පිරිස් තුලින් බිහි වුනා කියලා.

ශ්‍රද්ධාවත්, සීලයත්, ශ්‍රුතයත් ඇතිවීමත් එක්ක බුදු රජාණන් වහන්සේ කෙරෙහි තියෙන පැහැදීමෙන්ම,ඒ ශ්‍රාවකයා අර නියත මිත්‍යා දෘෂ්ටිය ඈත හැරලා ලෞකික සම්මා දිට්ඨිය

මත ජීවිතේ පිහිටුවා ගන්නවා.එතකොට ප්‍රඥාවෙන් ධර්මය පුරුදු-පුහුණු කරලා තමන් තෙරුම් ගත්ත එකකට අමතරව බුදු රජාණන් වහන්සේ කියපු නිසා ඒ දේ පිළිගනිමින් ලෞකික සම්මා දිට්ඨියට පත්වීම පිණිස අර මිත්‍යා දෘෂ්ටිය අතහරිමින් කටයුතු කරපු කෙනෙක්.

එතකොට මේ ශ්‍රද්ධාවෙන් පටන් ගත්තු කෙනාගේ වුනත්, ඇතිවන මේ දානය පිළිබඳව විශ්වාස කරන,කර්ම-කර්ම ඵල අදහන මානසික ස්වභාවය නැවත පිරිහෙන්නේ නැති මට්ටමට ස්ථාවර වෙන්නේ ප්‍රඥාව දියුණු වීමත් එක්කයි.එතකොට අර කෙනා අර පැත්තෙන් පටන් ගත්තත් අවසානෙදි සිද්ධ වෙන්න ඕනේ ප්‍රඥාවෙන් එයා එක දැකලා, මේ ලෝකේ අවබෝධ කරගත්ත ශ්‍රමණ බ්‍රාහ්මණයින් ඉන්නවා කියලා තෙරුම් ගන්නවා.එතනින් පටන් ගත්තට පස්සේ තමයි මෙයා ඕපපාතික උපත් විස්වාස කරන්නේ.මෙලොව,පරලොව විස්වාශ කරන්නේ.මව-පියා කියලා විශේෂ කෙනෙක් ඉන්නවා කියලා විශ්වාස කරන්නේ.කර්ම-කර්ම ඵල කියලා දෙයක් තියෙනවා කියලා දෙයක් තියෙනවා කියලා ස්ථිර පැහැදීමක් ඇතිවෙන්නේ.

දානය,උපස්ථානය,පුද-පූජාවන් වල විපාක තියෙනවා කියලා දැනගන්නේ.එතකොට එය නැවත එයාගේ හිතේ ඒ තියෙන ආකල්පය නැති කරන්න බෑ.මොකද කාලයක් අපි හිතමු දානයේ ආනිසංස තියෙනවා කියලා හිතාගෙන හිටපු කෙනෙක්,තව කාලයක් දානයට ගරහාගෙන යනවා නම්,එතකොට එයා ඒත් නියත මිත්‍යා දෘෂ්ටියෙන් නිදහස් වෙලා නෙමෙයි ඉඳලා තියෙන්නේ.

ඒ නිසා ප්‍රඥාව දියුණු වීමත් එක්කයි ඒ භූමියෙන් ඉදිරියට යන්නේ.ඉහලට නැගී සිටින්නේ.මේ විදිහට තමන්ගේ ජීවිතයේ සාමාන්‍ය මිනිස් ස්වභාවයෙන් ඉහලට ඔසවා තබන යහපත් දෘෂ්ටියක්,යහපත් දැක්මක් තමයි ලෞකික සම්මා දිට්ඨිය. එතකොට ලෞකික සම්මා දිට්ඨිය කියන එකත නැතිව ඉස්සරහට යන්න බෑ.

ඊට පස්සේ බුදු රජාණන් වහන්සේ දේශනා කර තියෙනවා,ලෝකෝත්තර සම්මා දිට්ඨියක් ගැන.කුමක් ගැනද?ලෝකෝත්තර සම්මා දිට්ඨියක්.

එතකොට  මේ ලෞකික හා ලෝකෝත්තර,ලෞකික ස්වභාවයන්ගේ,ලෞකික දැක්මක් පිරිසිදු කරගන්න එකේ විසේෂත්වය තමයි,ඒක මෙලොව-පරලොව සපයා පිණිස පවතින දෙයක්.

ලෝකෝත්තර සම්මා දිට්ඨියේ තියෙන විශේෂත්වය තමයි,එවන් දෙයක් ඇති වුනාට පස්සේ,ඒක සංසාරෙන් එතෙර වීම පිණිස,සංසාරේ නැවත කිසිදා දුකක් සකස් නොවීම පිණිස,උපකාර වෙන දෙයක්.

එනිසා ලෝකෝත්තර සම්මා දිට්ඨිය,ලෞකික සම්මා දිට්ඨියට පත් වුන කෙනා ලෝකෝත්තර ස්වභාවයට පත්වෙන්න,ලෝකෝත්තර දැක්මක් හදා ගන්න මහන්සි වෙන්න ඕනේ.

එතකොට මේ දේ කරගන්න ඒක තමා විසින් තමාගේ ජීවිතය ගොඩ නගා ගන්නවා වගේ වැඩක්.

දැන් අපේ ජීවිතය කොහොම දෙයක් ද?ඒ කියන්නේ දන අපේ ජීවිතය තියෙන්නේ දැන් අපි හිතමු ධර්මය යාන්තමටවත් මුණ ගැහුණ නැති කෙනෙක්ගේ ජීවිතය තියෙන්නේ කඩා වැටුන ,ගරා වැටුණු ජීවිතයක්ද?නැත්නම් ගරා වැටුණු දෙයක්වත් ගොඩනගපු නැති ජීවිතයක් ද තියෙන්නේ? සාමාන්‍ය කෙනෙක්ගේ?ගරා වැටුණු ජීවිතයක් ද? මොකුත් ම නැති ජීවිතයක් ද?

සංසාරේ ගත්තොත්? ගරා වැටෙන්නේ යමක් හැදුවට පස්සේ.

නමුත් නියත මිත්‍යා දෘෂ්ඨියේ පිහිටලා ඉන්නවානම් කෙනෙක්,එයා ගරා වැටෙන්නවත් දෙයක් හදාගෙන නැහැ.එතකොට එයා,එයාට ඉන්න හිටින්න තැනක් නැති,රැකවරණයක් නැති,ආරක්ෂාවක් නැති,ඕනෑම මොහොතක අනතුරකට පත්වෙන්න පුළුවන්,ආයුධයක් නැති කෙනෙක්,සටන් ශිල්පයක් දන්නේ නැති කෙනෙක්,කායිකව මානසිකව දුර්වල කෙනෙක්,පරිසරයේ ජීවත් වෙනවද?ආන්න ඒ වගේ අසරණයි.

ඒ නිසා ධර්මයේ හැසිරෙන කෙනෙක්ට සිද්ධ වෙනවා තමන්ගේ ජීවිතය ගොඩ නගාගන්න.ගොඩ නගාගන්නේ අපිට එහෙම රැකවරණයක් නැති නිසා.මොකුත්ම රැකවරණයක් නැති නිසා තමයි මුල ඉඳලම මේක සකස් කරගන්න සිද්ධ වෙලා තියෙන්නේ.

එතකොට මේ ලෝකෝත්තර වූ සම්මා දිට්ඨිය උපදවා ගන්න කැමති කෙනෙක්,මොකක් ද ලෝකෝත්තර සම්මා දිට්ඨිය කියන්නේ?ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් වෙන කෙනා ඒ පත්වෙන කෙනා තුල,ප්‍රඥාවේ වෙනසක් සිද්ධ වෙනවා.ඒ ප්‍රඥාවේ වෙනස

සිද්ධ වෙන්නේ,දුක කියලා දෙයක් හැබෑ ලෙසින් ම පවතින බව,තුන කාලය තුලම වෙනස් නොවන ,අතීතයේ,අනාගතයේ,වර්තමානයේ කියලා වෙනස් වෙන්නේ නැති,තුන කාලය තුල ම ඇත්තක් විදිහට දකින්න පුළුවන්,දුකක් තියෙනවා.තුන කාලය තුලම ඇත්තක් විදිහට දකින්න පුළුවන් නිසා ඒක සත්‍යයක්.

ඒ සත්‍යය මේ ලෝකෙට පෙන්වලා දුන්නේ සහ අවබෝධ කරන්නේ සාමාන්‍යය මිනිසුන් නොවේ,එය පෙන්වා දුන්නේ බුදු රජාණන් වහන්සේලා,අවබෝධ කලේ සම්පූර්ණයෙන් ම මාර්ග ඵල ලාභී උතුමන්.ඒ නිසා ඒ සත්‍යය උතුම් වූ  අය දකින සත්‍යයක්.ඒ නිසා එය ආර්යය සත්‍යයක් බවට පත් වෙනවා.

ආර්යයන් වහන්සේලා දකින උතුම් වූ සත්‍යයක්.තුන් කාලය තුල වෙනස් නොවන දුක කියා දෙයක් තිබෙනවා.ධර්මතාවයක්.මොකක් ද මේ තුන් කාලය තුල වෙනස් නොවන දුක්ඛ ධර්මතාවය ?

ආන්න ඒ දුක්ඛ ධර්මතාවය,ඒ ශ්‍රාවකයා දුක කියා දෙයක් තිබෙන බව සත්‍යය වශයෙන් ම දන ගන්නවා.දැනගෙන එය සත්‍යයයි කියලා ඥානයක් පිහිටනවා.දුක කියා ආර්යය සත්‍යයක් තුන් කාලය තුල වෙනස් වෙන්නේ නැති.ඒක ඇත්තක් කියලා ඥානයක් පිහිටනවා.ඒක තමයි පලවෙනි එක.

ඒක ඇති වුනොත් එහෙම දුක කියා දෙයක් තියෙනවා,එය සත්‍යයයි කියලා ඥානයක් පිහිටනකොට,ඒ ශ්‍රාවකයා තුල ඒ එක්කම එයා තුල උපදිනවා දුකේ හට ගැනීම කියන්නේ මොකක් ද?දුකේ හටගැනීම කියන්නේ තන්හාවේ හටගැනීමයි.ඒක සත්‍යයක්.අතීතයේත් ඒක සත්‍යයක්.අදත් සත්‍යයක්.අනාගතයෙත් ඒක සත්‍යයක්.

දුක්ඛ නිරෝධය කුමක් ද?තන්හාවේ නැතිවීම.තන්හාවේ නැතිවීම දුක නැතිවීමයි.ඒක සත්‍යයක් කියල ඥානයක් පිහිටනවා.දුක නැතිකරන ප්‍රතිපදාව කියන්නේ කුමක් ද?ආර්යය අෂ්ඨාංගික මාර්ගයයි.ඒක සත්‍යයක් කියලා ඥානයක් පිහිටනවා.

මෙන්න මේ චතුරාර්ය සත්‍යය පිළිබඳව සත්‍යය ඥානයට පත්වීමත් සමග තමයි ලෝකෝත්තර සම්මා දිට්ඨිය පිහිටන්නේ.එතකොට ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වීම කියන්නේ ඒ වගේ දෙයක්.එ□කොට බුදු රජාණන් වහන්සේ දේශනා කළා නම් දුක කියන්නේ ඉපදීම,ලෙඩ වීම,වයසට යාම, මරණය,ප්‍රියයන්ගෙන් වෙන්වීම, අප්‍රියයන් සමග

එකතු වෙන්න සිද්ධ වීම, කැමති දේ නොලැබී යාම,ඊළඟට පංච උපාදානස්කන්ධය, මෙන්න මේ ස්වභාවය දුක කියලා.එය සත්‍යයක් කියලා ඥානයක් පිහිටන්න ඕන.

දැන් ඔබෙන් ඇහුවොත්,ලෙඩවීම දුකයි නේද කියලා,දෙන උත්තරේ මොකක් ද?ඔව් කියනවා.වයසට යාම දුකයි නේද කියලා අහුවොත් ,ඔව් කියලා උත්තරේ හම්බෙනවා.මරණය දුකයි නේද කියලා ඇහුවොත්,ඔව් කියලා උත්තරේ හම්බ වෙනවා.

නමුත් අපි එකට කියන්නේ නෑ සත්‍යය ඥානයට පත්වීම කියලා.අපි එකට සත්‍යය ඥානයට පත්වීම කියලා කියන්නේ නෑ.එකට හේතුව තමයි ඒක අපි ඥාන දර්ශනයක් තුලින් ඇති කරගන්න එකක් නෙමෙයි.ඒක තර්කයට පමුණුවලා කියපු එකක්.තර්ක කරලා කියපු එකක්.වයසට යනකොට කෙස් පැහෙනවා.ඇග දුර්වල වෙනවා.ඇස් පෙනෙන්නේ නැතිව යනවා.එහෙනම් දුකයි, ඔව් දුකයි කියලා තර්ක කරන එකක්.

දුක පිළිබඳව සත්‍යය ඥානයකට පත් වෙනවා නම් ,මේකයි දුක කියලා,දුක හදලා දෙන දේ,යම් දෙයක් නිසා දුක සකස් වෙනවා නම් ඒ දුක සකස් වෙන්නේ තන්හාවේ හට ගැනීම නිසා කියන ඒක.ඒක සත්‍යය කියලත් මෙයා දකිනවා.දැන් අපි උදාහරණයක් විදිහට ගත්තොත්,මේ ලෙඩවීම,වයසට යාම දුකයි කියලා තර්ක කරලා කිව්වට, තන්හාව ඉතිරි නැතිව නිරුද්ධ වීමෙන් දුක නිරුද්ධ වෙනවා කියන ඒක සත්‍යයක් කියලා තර්ක කරලා තේරුම ගන්න අමාරුයි.

ආර්ය අෂ්ටාංගික මාර්ගය පුරුදු වීමෙන්,දුක ඒකාන්තයෙන්ම නැති වෙනවා කියලා, සත්‍යයක් කියලා තර්ක කරලා තේරුම් ගන්න බෑ.එහෙනම් දුක අවබෝධ වෙනවා කියල දුක කියලා කියන්නේ මෙවන් වූ දෙයක් කියලා සත්‍ය ඥානයට පත් වෙද්දී, ඉතිරි ආර්යය සත්‍යයන් ප්‍රහාණය කල යුතුයි, සාක්ෂාත් කළ යුතුයි, ප්‍රගුණ කළ යුතුයි කියන කාරණා හතරත් සත්‍යයයි කියන වැටහීමත් එක්කයි ඥාන දර්ශනය පිහිටන්නේ.

එතකොට යම් කෙනෙක් හිටියොත් ඔන්න දුක කියලා දෙයක් තියෙනවා, ඒක ඇත්තක් කියලා අවබෝධ වෙලා, දුක හට ගන්නේ තණ්හාව නිසා කියන එක අවබෝධ නොවුනොත්? එහෙම කෙනෙක් ඉන්න විදිහක් නෑ.අවබෝධ වෙනවා නම් එයාට ආර්ය සත්‍යය හතරම අවබෝධ වෙනවා.

අන්න ඒ නිසා මෙන්න මේ චතුරාර්ය සත්‍යය, සත්‍යයක් කියන ඒක තාම අපිට අවබෝධ වෙලා නෑ.ඥානයක් පිහිටලා නෑ.ඒ ඥානය පිහිටියා නම්, අන්න එකයි සම්මා දිට්ඨියට පත්වීම කියන්නේ ලෝකෝත්තර වශයෙන්.

එතකොට මෙන්න මෙතෙන්ට අපි පුරුදු පුහුණු කළ යුතුයි.මෙතෙන්ට පත් වෙන්න, ඉබේ හිටියට ඒක පත් වෙන්නේ නෑ.නිකං හිටියට පත් වෙන්නේ නෑ ඒ තත්වෙට.ඒක පුරුදු පුහුණු කරන්න ඕන.ඒක කරන්න ඕන අර ලෞකික සම්මා දිට්ඨියේ ඉඳලා ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වෙන්න අවශ්‍ය කරන ගොඩනගා ගැනීමක් තමන්ගේ ජීවිතයේ හදා ගත්තොත් අන්න ඒක කරගන්න පුළුවන්.

දැන් මේ කියන දේවල් වලදී සමහර අයට මේ වචන බරපතල හින්දා තේරෙන්නේ නෑ.මේ දේවල් ගැන ලොකුවට හිතන්න එපා.දැන් අපි ගත්තොත් සත්‍ය ඥාණය කියනකොට ලොකුවට හිතනවනේ.මට තේරෙන්නෑ මේ මොකක්ද මේ කියන්නේ කියලා.

ඒ අවස්ථාවේදී කල්පනා කරන්න ඕන දැන් සමහර අය ඉන්නවා, පංච උපාදානස්කන්ධය ගැන දේශනාවක් කරද්දී අලූතෙන්ම වැඩසටහනට ආපු කෙනෙක්ට රූපය ගැන අපි කියනවා,වේදනාව ගැන කියනවා, සංඥාව ගැන කියනවා,සංඛාර ගැන කියනවා,දැන් තේරෙන්නේ නෑ.එතකොට එයා අසරණ වෙනවා.දැන් මොකද මං කරන්නේ,මට තේරෙන්නේ නැනේ,මොකුත් තේරෙන්නේ නෑ මට,කළබල වෙන්න එපා.කරන්න තියෙන්නේ දැන් ඒ කියන දේ අහගෙන ඉන්න.ඊට පස්සේ මේ දේවල් විස්තර කරලා තියෙන පොත-පත තියෙනවා.ඒ දේවල් අරන් ගිහිල්ලා,දැන් තමන්ට නොතේරුනේ රූපය නම්,රූපය කියන ඒක ලියා ගන්නවා.සංඥාව තේරුනේ නැත්නම් ඒක ලියා ගන්නවා.

දැන් ඊට පස්සේ පුළුවන් අර පොත පත අධ්‍යයනය කරන අතරේ,එහෙම නැත්නම් ධර්ම සාකච්චා කරන අතරේ,නොතේරුණු වචන අහලා පැහැදිලි කර ගන්න.ඊට පස්සේ ඒ ඒ වෙලාවට මතක තියා ගන්නවා.එහෙම නැත්නම් තව,වෙනදා ඒක දන්න කලින් වැඩසටහන්වලට ආපු කෙනෙක් ඉන්නවා නම් අහලා දැන ගන්නවා.

ඒ නිසා දැන් සමහර අය ඉන්නවා,දැන් අලූතෙන් එනවා,තේරෙන්නෑ කියලා යනවා.කවදාවත් එහෙම කරන්න අවශ්‍ය නෑ.තමන්ට නොතේරෙන දේ හොඳට සටහන් කරලා තියාගෙන ඒක පියවරකින්,දෙකකින් කාගෙන් හරි අහගෙන දැනගන්න පුළුවන් දෙයක්.ඒ නිසා උත්සාහය මහන්සිය තියෙනවා නම් මේ දේවල් දැන ගන්න බැරි නෑ

පුළුවන්.ඒ නිසා මේ චතුරාර්ය සත්‍යයේ සත්‍ය ඥානයට පත්වෙන කෙනා,ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වෙන්න කැමති කෙනෙක් ඉන්නවා නම් එයා,අර තමන් කලින් කොහොමද ජීවිතේ ගොඩනගා ගත්තේ කියන එක ධර්මානුකූලව දැන ගන්න ඕන.

මේ විදිහට ධර්මයේ හැසිරෙනකොට,අපි හිතට සීලය,සමාධිය,ප්‍රඥාව ආදිය පුරුදු පුහුණු කරගෙන ධර්මයේ හැසිරෙද්දී විවිදාකාර බාධක එනවා.බාධක කියන්නේ සමහර වෙලාවට බාහිරින් එන බාධක වලට වඩා බරපතල විදිහට තියෙන්නේ අභ්‍යන්තරින් එන බාධක.

අභ්‍යන්තරයෙන් එන අකුසල් සහ වෙන පැතිවලට ඇදලා දාන නිසා තමන්ට අමාරුයි එක දිගට මේක පුරුදු පුහුණු කරගන්න.එතකොට එහෙනම් ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වෙන්න කැමති කෙනාට ඒකත් ප්‍රශ්නයක්.යමක් ගොඩනඟා ගන්නවා වගේම ගොඩනගෙන දේට එන බාධක ජයගන්න එකත් එයාට තියෙන අභියෝගයක්.එකත් අපි එහෙනම් දැන ගන්න ඕන.

ඉතින් බුදුරජාණන් වහන්සේ අර අනුපූර්ව වශයෙන් ධර්මය දේශනා කරද්දී,අපි අහලා තියෙනවා මුලින්ම දානය ගැන බුදුරජාණන් වහන්සේ කියලා තියෙනවා.සීලය ගැන කියලා තියෙනවා.ඊට පස්සේ බුදුරජාණන් වහන්සේ කාමයන්ගේ ආදීනවයන් ගැන දේශනා කරලා තියෙනවා.

ඊට පස්සේ බුදුරජාණන් වහන්සේ,දැන් අපි ගත්තොත් එහෙම දානය,සීලය,ඊළඟට සුගතිය ගැන දේශනා කරලා අවසානයේ කාමයන්ගේ ආදීනවය ගැන කියනවා.ඊට පස්සේ චතුරාර්ය සත්‍යය ගැන බුදුරජාණන් වහන්සේ ධර්මය කියන්න පටන් අරන් තියෙනවා.

මේකෙන් අපිට පැහැදිලි වෙන්නේ මුලින්ම මේකට සමීප වෙන ආධුනික කෙනෙක්ට බුදුරජාණන් වහන්සේ උත්සාහ කරලා තියෙන්නේ අර,ඉස්සෙල්ලා ලෞකික සම්මා දිට්ඨියේ පිහිටන මට්ටමට ධර්මය කියන්න.

ඊට පස්සේ දෙව්ලොව උපදින ප්‍රතිපදාව හදලා දෙන්න.ඊට පස්සේ දෙව්ලොව ඉපදුනත්,මිනිස් ලොව ඉපදුනත්,තියෙන්නේ පංච කාමයයි.පංච කාමය දුක් සහිතයි කියන එක ඊට පස්සේ පෙන්වලා දෙනවා.ඊළඟට කාමයන්ගෙන් නිදහස් වීම පිණිස චතුරාර්ය සත්‍යය අවබෝධ කළ යුතුයි කියන එක කියලා දුන්නා.

එතකොට අනුපිළිවෙලින් තමන්ගේ ජීවිතයේ ආර්ය සත්‍යය අවබෝධ කරන තැනට පුරුදු-පුහුණු කිරීමක් තියෙනවා දේශනාවේ.දැන් අපි හිතමු කාලයක් තිස්සේ වැඩසටහන් වලට සහභාගී වෙලා ඉන්න කෙනෙක් ටිකක් කැපවීමෙන් චතුරාර්යය සත්‍යය අවබෝධයට මහන්සි වෙනවා.ඒ අතරේ මෙයා දකිනවා අලූත් එක්කෙනෙක්,ආධුනික කෙනෙක්,අර මුල් හරියේ ඉන්නවා.අර කාලයක් පරණ වුනු කෙනා හරියට සත්පුරුෂ ගුණ ධර්මයන්ගේ පිහිටලා තිබුනේ නැත්නම්,තමනුත් ගොඩ නැගුනේ අනුපිළිවෙලින්.හැබැයි අරයට නින්දා කරනවා,ඔහොම දන් දිදී ඉඳලා හරියන්නෙ නැහැ.ඔහොම ඔය විදිහට දිව්‍ය ලෝකේ යන්න කල්පනා කර කර ඉඳලා හරියන්නේ නැහැ. චතුරාර්යය සත්‍යය අවබෝධ කරන්න මහන්සි ගන්න ඕන.හැබැයි අරයගෙ හිත,චතුරාර්යය සත්‍යය අවබෝධයට දැන් මහන්සි වෙන කෙනාගේ හිතත් ඔය පිළිවෙලටමයි දියුණු වුනේ.දියුණු වෙලා යම් තැනකට ආවා.දැන් එයාට තමන් ආපු පාර මතක නෑ.එක පාරට ඇදලා ගන්න හදනවා.එක හරියට කෙටි දුර ධාවන තරඟයක දුවන්න ශරීරය,ශක්තිය හදාගන්න මහන්සි වෙන කෙනෙක්ව,ඔහොම හරියන්නේ නැහැ,යමු මැරතන් එකට කියලා,මැරතන් දුවන්න ඇදලා ගත්තා වගේ එකක් ඒක.එයා ඉස්සෙල්ල එතෙන්ට හදා ගන්න ඕන.මීටර සියය දුවන්න.ඊට පස්සේ එයාට පුළුවන් දෙසීය ඉවර වෙනකල් දුවන්න පුලූවන්ද කියලා බලන්න.ඊට පස්සේ පුළුවන් 400 ට ,800 ට,1500 ට යන්න පස්සේ.

එක පාරට ඇදල ගත්තොත් මොකද වෙන්නේ එයාට?ධාවනය කරනවා කියන එකත් එපා වෙනවා.ඊට පස්සේ එයා ධර්ම මාර්ගයෙන් ඈත් වෙනවා.ඒ නිසා ගස් වලට හේතු-ඵල සහිතව ක්‍රමානුකූලව හැදෙන්න ඉඩ දෙන්න ඕන.අපි ටිකක් දුරට හැදිච්ච ගහක කියලා,පොඩි ගස් වල කොලෙන් අල්ලලා ,උඩට අදින්න හැදුවොත් වෙන්නේ අර කොළ දළු ටික කැඩිලා අපේ අතට එනවා.ගහ මැරිලා යනවා.එකයි වෙන්නේ.

ඒ නිසා අර අනුපිළිවෙල ප්‍රතිපදාවේ තමනුත් දියුණු වෙන්න ඕන.අනුපිළිවෙල ප්‍රතිපදාවේ අනිත් අයටත් දියුණු වෙන්න ඉඩ දීලා උපේක්ෂාවෙන් ඉන්න ඕන.එතකොටයි මේක එකට සිද්ධ වෙන්නේ.කල්‍යාණ  මිත්‍ර සම්පත්තිය කියන්නේ ඒකයි.ඒ විදිහට ඒක කල්පනා කරන්න අවශ්‍යයි.

ඉතින් මේ විදිහට තමන්ගේ ජීවිතය ගොඩනගාගන්න කැමති කෙනෙක් ,බුදු රජාණන් වහන්සේගේ දේශනාවන් රාශියකින් පුළුවන් මේකට අවශ්‍ය කරන විසඳුම් සොයා

ගන්න.බුද්ධ දේශනාවන් දහ අට දාහක් තියෙනවා නම්,මේ දහ අට දාහම තියෙන්නේ ශ්‍රාවකයෙක් ජීවිතයක් ගොඩ නඟා ගන්න ආකාරය ගැන.

ඒ නිසා අපි ජීවිතය ගොඩනඟා ගන්න කැමතිනම්,ඒකට දේශනා රාශියක් තියෙන අතරේ අපි එකක් අද සිහිකර ගනිමු.කොහොමද ඒ පැත්තෙන් ජීවිතය ගොඩ නඟා ගන්නේ කියලා.එතකොට මේක විතරයි කියලත් හිතන්න එපා.මීට වඩා විවිධ ක්‍රම බුදු රජාණන් වහන්සේ දේශනා කරලා තියෙනවා.

බුදු රජාණන් වහන්සේගේ ධර්ම දේශනාවන්ගේ තියෙන විශේෂත්වයක් තමයි සමහර ධර්ම කාරණා උපමා වලින් කියලා දෙනවා.ඒ මොකද,උපමා වලින් කියලා දෙනකොට ඒක සමහර අයට තේරුම් ගන්න ලේසියි.ඒ නිසා තමයි උපමා වලින් කියලා දෙන්නේ.

බුදු රජාණන් වහන්සේගේ දේශනයක් තියෙනවා ශ්‍රාවකයෙකුගේ ජීවිතයක් ගොඩනඟාගෙන කෙලෙස් සතුරන්ගෙන් ආරක්ෂා වෙලා ඉන්න හැටි ගැන බුද්ධ දේශනාවක් තියෙනවා.එතකොට මේ දේශනාවේ තියෙන්නේ ආරක්ෂා වෙලා රැකවරණයක් හදාගන්න හැටි.ගොඩ නගාගන්න හැටි. ඒ නිසා මේ දේශනාව මොකුත්ම ගොඩනඟා ගත්තු නැති කෙනෙක්ට බොහොම වැදගත් දෙයක්.

දැන් අපි හිතමු යම් කිසි කෙනෙක්ට අවශ්‍ය නම් දිසාපති කෙනෙක් වෙන්න,ඒ අවශ්‍ය කෙනාට දිසාපති කෙනෙක් වෙන්න අවශ්‍ය අධ්‍යාපන රටාවක් තියෙනවා.යම් කිසි කෙනෙක්ට අවශ්‍ය නම් අපි හිතමු ලොකු ව්‍යාපාරයක හිමිකරුවෙකු වෙන්න,ඒ ව්‍යාපාරයක හිමිකරුවෙක් වෙන්න අවශ්‍ය කරන, ඒ ක්ෂේත්‍රය සම්පූර්ණ කරගන්නට දේවල් තියෙනවා.

යම් කෙනෙක්ට අවශ්‍යනම්,වෛද්‍යවරයෙක්,ඉංජිනේරුවෙක් වෙන්න,එතෙනට යන්න අවශ්‍ය කරන ඉගෙනගැනීම්,අධ්‍යාපනයන් තියෙනවා.එතකොට එයා දන්නවා,මේක-මේක කරලා තමයි මෙතෙන්ට යන්න තියෙන්නේ කියලා.

ආන්න ඒ වගේ බුදු රජාණන් වහන්සේගේ ශ්‍රාවකත්වය තුලත්,ශ්‍රාවකයා ගොඩනැගෙන්නේ මේක-මේක කලොත් කියලා බුද්ධ දේශනාවේ තියෙනවා.ශ්‍රාවකයා යැපෙන්නේ මේ-මේ දේවල් නිසා කියලා දේශනාවේ තියෙනවා.එතකොට එහෙනම් ඒ දේශනාවම අපි හොඳට හිතට අරන් පුරුදු කලොත්,ඒක අපේ යහපත පිණිසම ඒකාන්තයෙන් හේතු වෙනවා.

එවන් වූ දේශනාවක බුදු රජාණන් වහන්සේ උපමාවක් විදිහට දේශනා කළා,නගරයක් ගොඩනගා ගන්න ආකාරය ගැන.මේක බොහොම වැදගත් දේශනාවක්.මේ දේශනාවේ තමයි මේ අභ්‍යන්තර ආහාර ගැන විස්තර වෙන්නේ.

මේ දේශනාවේ තමයි සියලු සතුරු බලවේග වලින් ආරක්ෂා වෙන්න පුළුවන් ගුණ ධර්ම ටික ගැන තියෙන්නේ.එතකොට මේ දේශනාව ගැන හරියට තේරුම් ගත්තොත්,ඒ කෙනාට ශ්‍රාවක ජීවිතයක් ශක්තිමත්ව ගොඩනගා ගන්න පුළුවන්කම තියෙනවා.

බුදු රජාණන් වහන්සේ දේශනා කළා රජ කෙනෙක් ඉන්නවා කියල.මේ රජ්ජුරුවන්ගේ නගරය තියෙන්නේ බොහොම ඈත තියෙන ප්‍රත්‍යන්ත ජනපදයක.මේ ජනපදයේ ඉන්න රජතුමා දැන් ඈත තියෙන නිසා තමන්ගේ නගර සීමාවේ රාජධානියක් පිහිටුවාගන්නවා.

දැන් නගරයක් පිහිටුවාගෙන නිකන්ම ඉන්නේ නෑ රජවරු.රජවරු මොකද කරන්නේ?

බුදු රජාණන් වහන්සේ සඳහන් කරනවා,මෙයා ආරක්ෂාව සංවිධානය කර ගන්නවා කියලා.නගරය විනාස නොවෙන්න ආරක්ෂාව හදාගන්නවා.

ඒකට මෙයා මොකද කරන්නේ? ආරක්ෂිත අංග හතක් රජ්ජුරුවො මේකට එකතු කර ගන්නවා. නගරය ඇතුලෙන් කරදරයක් නැතුව හොයා ගන්න පුලුවන් ආහාර වර්ග හතරක් හොයා ගන්නවා කිව්වා. ආරක්ෂිත අංග හතයි, අභ්‍යන්තරයෙන් ආහාර වර්ග හතරයි.

මේ ආරක්ෂක අංග හත බුදුරජාණන්වහන්සේ විස්තර කරා.

පළවෙනි එක තමයි, බොහොම ශක්තිමත් උස කුළුණක් පිහිටනවා කිව්වා. ඒක තමයි පළවෙනි එක. එතකොට දැන් අපි හිතන්නේ ආරක්ෂාවක් සංවිධානය කරනවා නම් ඉස්සෙල්ලාම බාහිර බැම්ම බැද ගන්න ඕනේ කියල. වැට බැදගන්න. ඉස්සෙල්ලාම කලේ මොකක්ද? උස කුලුණක් බැන්දා. උස කුලුණක් බැඳල ඒ කුලුණ උඩ රාජ සේවකයෝ, ඒ කියන්නේ යුද සෙබලු කිහිප දෙනෙක් තියනවා. ඊට පස්සෙ තමයි ඉතුරු ටික කරන්න පටන් ගන්නේ.

මේ උස කුලුන කියන එක බොහොම වැදගත් දෙයක්. ඇයි මේ රාජධානියකට උස කුලුනක් මොකටද? මොකක්ද හේතුව? කියන්න බලන්න, ඔව් සතුරන්ගෙන් ආරක්ෂා

වෙන්න. කොහොමද සතුරන්ගෙන් ආරක්ෂා වෙන්නේ? එක හේතුවක් තමයි ඈත දර්ශනය වෙනවා, මේ නිසා කලින් සූදානම් වෙන්න පුලුවන්. ඈත පෙනෙන හින්දා කලින් සූදානම් වෙන්න පුලුවන්. දෙවෙනි හේතුව තමයි උස කුලුනක් හැදුවම තියෙන ඊලග ආරක්ෂාව, දැන් කලින්ම දැකල යුද ආයුද සංවිධානය කරගෙන ඉන්න අතරේ, මේ උස කුලුනෙ ඉන්න කෙනාට පුලුවන් දිශා අටම කැරකිලා බලන්න පුලුවන්. ඒ නිසා සතුරු සෙබලු මුලින්ම, ඔබ දැකල තියෙනව නම් පරන යුද්ධ එහෙම මුලින්ම පහර දෙන්නේ උඩ ඉඳන් බලන් ඉන්න කෙනාට. මේ නිස උස කුලුන හදනවා ඊතලයකට ලං වෙන්න බැරි වෙන්න. තියෙන බලවත්ම අවියෙන්වත් උස කුලුනෙ ඉන්න සෙබලට පහර දෙන්න බැරි වෙන්න උස කුලුන උසට හදනවා. එතකොට වටේ ඉන්න අය කොහොමද සංවිධානය වෙන්නේ, කොතනින්ද ඇත්තු එන්නෙ, කොහෙන්ද අශ්වයො එන්නේ කොයි පැත්තෙන්ද ගිනි පිට කරන්න හදන්නේ උඩ ඉඳගෙන පහලට තොරතුර දෙන්න පුලුවන්. මෙන්න මේ හේතු නිසා, ඒ කියන්නේ මේ කල් සූදානම් වීමටත්, ඒ මොහොතේ සටනටත් උස කුලුන උපකාරී වෙනවා. ඒක හොඳට මතක තියගන්න, ශ්‍රවකයාගේ ජීවිතයට ආදේශ කරන තැනට වැදගත් වේවි. පෙර සූදානමටත්, ඒ මොහොතේ සටනටත් උස කුලුණ වැදගත්. ඒ උස කුලුණ බුදු රජාණන් වහන්සේ උපමා කලේ ශ්‍රද්ධාවට. කුමටද උපමා කලේ? ශ්‍රද්ධාවට. උස කුලුණ සමානයි කිව්වා ශ්‍රද්ධාවට. ශ්‍රද්ධාව කියන්නේ කුමක්ද? බුදු රජාණන් වහන්සේ ගැන ගුණ වශයෙන් පැහැදී සිටීම. බුදු රජාණන් වහන්සේගේ අවබෝධය ගැන තියෙන පැහැදීම. මෙන්න මේ ශ්‍රද්ධාව තියෙන කෙනාට කල් තියා අනතුර අඳුර ගන්නත් පුලුවන්, ඒ මොහොතේ එල්ල වෙන පහරදීම් වලට මුහුන දෙන්නත් පුලුවන් ශ්‍රද්ධාවන්තයාට. අනතුර ලබා දෙන්නේ කවුද? අනතුර ලගා කරවන්නෙ කවුද? අකුසල්, කෙලෙස් උපක්ලේශ ආදී මේ සතුරු සේනාවල්. අකුසලයක්, ආශ්‍රවයක්, කෙලෙස් මේ නොයෙක් ආකාරයෙන් සතුරෝ හඳුන්වනවා. ඈත තියාම තේරුම් ගන්න පුලුවන් මෙන්න මේක අකුසලයක් ඇතිවීම පිනිස හේතු වෙන දෙයක්. ශ්‍රද්ධාවන්තයා කල් තියාම හඳුනා ගන්නවා. ඒ මොහොතේ ප්‍රහාරය එනකොට, දැන් ඔන්න වරදක් සිද්ධ වෙන්නෙ හොඳටම ලං වුනා, අපි හිතමු බුදුරජාණන් වහන්සේ කෙරෙහි නොසෙල්වෙන ශ්‍රද්ධාවකින් යුක්ත කෙනෙක්ට, වරදක් සිද්ධවෙන්න බොහෝම ආසන්න වුනා දැන්, දැන් ඒ ආසන්න වෙනකොට මෙයා දන්නවා මෙතනින් දැන් අකුසලය එන්නයි හදන්නේ, ඒ කනුවේ ඉන්න සෙබලා සජීවී නම් අකුසලය මේ මොහොතේ පහර දෙද්දිත් දැන ගන්නව, ශ්‍රද්ධාව මුල් කරගෙන අකුසලයට පහර දෙන්න දෙන්නේ නැහැ. ඒ නිසා බොහෝම වැදගත් ශ්‍රද්ධාව නම් වූ මේ කුලූන.

දෙවෙනි එක තමයි මේ නගරය වටේට තියෙනවා පාරක්. තාප්පේ උඩින් තියෙන පාරක්. ඒකට කියනවා අනුපරියාය පථය කියලා. නගරෙ වටේට තියන, තාප්පේ උඩින් තියෙන පාරක්. ඒක ඔය චීන මහා ප්‍රාකාරය වගේ. ඒක තමයි, දෙවෙනි එක.

තුන්වෙනි එක තමයි, තාප්පෙට පිටතින් තියෙනවා දිය අගලක්. විශාල, ගැඹුරු, මේ පැත්තෙන් ඒ පැත්තට පනින්න අපහසු දිය අගලක් තියෙනවා. අන්න ඒ දිය අගලයි තාප්පේ උඩින් තියෙන පාරයි ඒකත් නගරයේ ආරක්ෂාවට උපකාර වෙන දෙයක්.

ඔය තාප්පෙ උඩින් තියෙන පාර ඇයි උපකාර වෙන්නේ? දැන් අර කණු උඩ හිටියට, කණු උඩ ඉඳන් ප්‍රහාර එල්ල කරන්න අමාරුයි. උස වැඩි නිසා ඉලක්කේ ගන්න බැහැ. ඒ නිසා තාප්පේ උඩ තියෙන පාරෙ ඉඳන් තමයි අර වට කරගත්තු පිරිසට පහර දෙන්නේ. දිය අගල තියෙන නිසා තාප්පේ ලගට එන්න අමාරුයි. දිය අගලේ කිඹුල්ලු වගේ සත්තු ඉන්න නිසා, බහින්නෙත් නැහැ. එතකොට තාප්පේ උඩ පාර වටේ ඉන්න පුලුවන් නිසා සෙබලුන්ට වටෙන් කිට්ටු වෙන්න හදනකොට හදනකොට ඒකට ආරක්ෂාව සපයන්න පුලුවන්. ඇතුලට එන්න දෙන්නේ නැතුව. ඒ කියන්නේ එහෙනම් තාප්පෙන් ඇතුලට එන්න නොදී ආරක්ෂා කරන දේවල් දෙකක් තමයි, මේ පාරයි, දිය අගලයි. එතකොට යම්කිසි විදියකින් මේ ආකාරයෙන් ආරක්ෂාවක් සංවිධානය වෙනවා නම් බුදුරජාණන් වහන්සේ වදාළා ශ්‍රාවකයාගෙ ජීවිතයටත්, උස තාප්පෙකුයි දිය අගලකුයි කපාගන්න ඕනෙ කියලා. මැදින්ම හදා ගන්නවා ශ්‍රද්ධාව නම් වූ කුලුණ. වටේට හදා ගන්න පාර තමයි පවට තියෙන ලැජ්ජාව, පහල තියෙන දිය අගල තමයි විපාකයට තියෙන බය. පවු කරන්න තියෙන ලැජ්ජාවත් පව් වල විපාකයට තියෙන බයත්, එතකොට මේ දෙක, ලැජ්ජාව කියන්නේ තමන් ප්‍රාණ ඝාතය කරන කෙනෙක් කියලා තමන්ගේ හෘද සාක්ශිය තමන්ට කියනවටත් ලැජ්ජයි. මං ප්‍රාණ ඝාතය කරන කෙනෙක් කියලා දෙවිවරු දැන ගන්නවටත් ලැජ්ජයි. තමන් ප්‍රාණ ඝාතය කරනව කියල හිත දියුණු කරගත් අය දැන ගන්නවාටත් ලැජ්ජයි. තමන් බොරු කියනවා කියල තමන්ට තමන් චෝදනා කරනවටත් ලැජ්ජයි. තමන් බොරු කියන කෙනෙක් කියලා දෙවිවරු දැන ගන්නවාටත් ලැජ්ජයි. තමන් බොරු කියන කෙනෙක් කියල හිත දියුණු කරපු කෙනෙක් දැනගන්නවටත් ලැජ්ජයි. එතකොට මේ ලැජ්ජාවට කාරණා තුනක් මුල් වුනා. එකක් තමයි තමන්ගේ

අභ්‍යන්තරයෙන් එන චෝදනාව. දෙවෙනි එක දෙවිවරුන්ගෙන් එන චෝදනාව. තුන්වෙනි එක හිත දියුනු කරපු අයගෙන් එන චෝදනාව.

එතකොට දැන් මෙතෙන්ට ලෞකික සම්මා දිට්ඨිය උදවු වෙන්නේ නැත්ද? කොහොමද උදවු වෙන්නේ? ලෞකික සම්මා දිට්ඨිය ඇති කරගත්තු කෙනා තුල විශ්වාසයක් තියනවා හිත දියුණු කරගත්තු අය මේ ලෝකෙ සිටිනවා කියල. දෙවිවරු මේ ලෝකෙ සිටිනවා කියලා. ලෞකික සම්මා දිට්ඨිය ප්‍රබල නම්, පවට ලැජ්ජාව පිහිටන්නේ නැත්ද ප්‍රබල ලෙස? ප්‍රබල ලෙස පිහිටනවා. දැන් බලන්න අපි සාප්පුවකට ගියාට පස්සේ අපිට පේනව කැමරා සවි කරලා තියෙනවා. කැමරා සවි කරල තියෙනවා විතරක් නෙවෙයි, කැමරාවට රූපයක් ගන්නවා කියල තිරයකුත් තියෙනවා. මේක දැක්කට පස්සේ දැන් අපිට විශ්වාසයි නේද කවුරු හරි බලන් ඉන්නවා කියල? කවුරු හරි බලන් ඉන්නවා කියන විශ්වාසය ආපු ගමන් අපි සංවරව ඉන්නේ නැත්ද? ලැජ්ජාව ඇති කර ගන්නේ නැත්ද? ඇඳුම් පවා සංවර කරගන්නවා ඊට පස්සේ. ඇවිදින විදිය පවා සංවර කරගන්නවා. කවුරු හරි බලන් ඉන්නවා කියන එක ස්ථිරව තේරුන ගමන් ලැජ්ජාවක් ඇති වෙනවා වැරැද්දක් කරන්න. අපිට තවම විශ්වාසයක් නෑ දෙවිවරු බලන් ඉන්නවා කියල. හරියට පිහිටලා නෑ.දෙවිවරු බලන් ඉන්නවා කියන එකේ හරියට හිත පිහිටියා නම් පුදුම විදියට හිත සංවර කරගන්නවා. සිතින් වත් පාපී සිතුවිල්ලක් සිතෙන්න ඉඩ නොදී සිත සංවර කරගන්නවා දෙවිවරු බලන් ඉන්නවා කියන විශ්වාසය තියෙනවා නම්. ලෞකික සම්මා දිට්ඨිය ඕපපාතික උපත ගැන ප්‍රබල විශ්වාසයක් ඇති වෙලා. ඊ ලගට හිත දියුණු කරපු අය ඉන්නවා කියන ප්‍රබල විශ්වාසයක් ඇති වුනොත් එතකොට හිත කය සංවර කරගන්නවා. එතකොට මේ පවට ලැජ්ජාව ප්‍රබලව පිහිටනවා අර ලෞකික සම්මා දිට්ඨියෙන් ඇති කරගන්න, මේ ලෝකේ ගැන තියෙන පැහැදීමත් විශ්වාසයත් එක්ක. ඒ කෙනා පව් කරන්න ලැජ්ජයි. පව් හිතන්න ලැජ්ජයි. අන්න ඒක බැම්මක් වගේ පිහිටනවා ආරක්ෂිතව. ඒ ලැජ්ජාව එන්නේ අතෙන්ට විශ්වාසය පිහිටියාමයි. ලැජ්ජාව ඇතිවන හේතුවලට විශ්වාසය පිහිටියාමයි. දැන් කවුරුහරි පවක් කරන්න ලැජ්ජා නැත්තේ කවුරුත් බලගෙන ඉන්නේ නැත්නම් නේ. දැන් මල් පැලයක් හොරකම් කරන්න එහා පැත්තේ ඉඩමට පනිනවා. පනිනකොට මුලින්ම මොකද කරන්නෙ? වටපිට බලනවා. කවුරු හරි බලන් ඉන්නවාද කියල බලනවා. ඒ ගෙදර කවුරු හරි ඉන්නවාද කියල බලනවා. ගස් උඩ ඉන්නවද බලනවා පොල් කඩන්න නැගපු මිනිස්සු, අන්තිමට කවුරුත් නෑ කියන විශ්වාසය ඇති වුනාම තමයි, හොරකමට පනින්නේ. කවුරු හරි බලන් ඉන්නවා නම්,

බයකුත් එනවා, ලැජ්ජාවකුත් එනවා. බය මොකක්ද? අල්ල ගත්තොත් විපාකයක් තියෙනව, ලැජ්ජාව මොකක්ද? තමන් මේක කරා කියල දැනගන්නවා. එතකොට මේ ලැජ්ජාවයි බයයි කියන දෙක හරියට අර දිය අගලයි තාප්පෙයි එකට හේත්තු වෙලානේ තියෙන්නේ ඒ තාප්පෙ උඩ තමයි පාර තියෙන්නේ එකකට එකක් සම්බන්දයි මේක. තාප්පේ නැත්නම් දිය අගල තිබ්බත් නැතත් ප්‍රශ්නයක් නෑ කෙලින්ම පහර දෙන්න පුලුවන්. ලැජ්ජාවයි බයයි දෙක එකට තියෙන්නේ. හැබැයි ලැජ්ජාව ඇති වෙන්නේ අකුසලය කිරීමට, බය ඇති වෙන්නේ අකුසලයෙන් එන දඬුවමට, විපාකයට. ඒ නිසා මේ අකුසලයේ එන විපාක මොනවද? ප්‍රාණ ඝාතය සොරකම ආදී කායිකව සිදුවන අකුසල්, බොරුව කේලම ආදී වචනයෙන් සිදුවෙන අකුසල් ආශාව, ද්වේශය මිත්‍යා දෘෂ්ඨිය ආදී සිතින් සිදුවෙන අකුසල් නිසා මෙලොව දුක් විඳින්න සිද්දවෙන දේවල් ගැන බුදුරජාණන් වහන්සේ දේශනා කරල තියෙන දේවල් කෙරෙහි විශ්වාසයක් ඇති කර ගත්තොත්, පරලොව විඳින්න වෙන දුක ගැන බුදුරජණන් වහන්සේගේ දේශනාවට අනුව විශ්වාසයක් ඇති කර ගත්තොත් මෙලොව පරලොව විශ්වාස කරන කෙනා ලෞකික සම්මා දිට්ඨිය ඇතිකරගෙන ඒකාන්තයෙන්ම ඊලග ජීවිතයේ මට උපදින්න වෙන්නේ දුක් සහගතවයි කියල තෙරුම් ගනන්වා, කර්ම කර්මඵලත් අදහන නිසා. කර්ම කර්ම ඵලත් අදහන නිසා මෙලොව පරලොවත් අදහන නිසා ඊලග ජීවිතය දුක් සහගතයි කියල එයා බය වෙනවා ඒකාන්තයෙන්ම. ඒ නිසා පවට බයක් උපදවාගන්නවා. බලන්න මේක වෙන්වෙලා නෑ ලෞකික සම්මා දිට්ඨියයි ලෝකෝත්තර සම්මා දිට්ඨියයි. ලොකු උදව්වක් තියෙනවා ලෝකෝත්තර සම්මා දිට්ඨියට තල්ලු කරන්න ලෞකික සම්මා දිට්ඨියෙන්. ගොඩක් අය ලෞකික සම්මා දිට්ඨිය ගනන් ගන්නේ නෑ. හිතන්නේ මේක මේ අපි නිකන් සිල් අරගෙන බණ භාවනා කරන්න ගත්තු ගමන් ඉබේ හැදෙන දෙයක් කියලා ලෞකික සම්මා දිට්ඨිය. ඒකත් ශ්‍රද්ධාවත් ප්‍රඥාවත් නිසා හැදෙන දෙයක්. ඒකේ ලොකු තල්ලුවක් තියෙනවා දැන් ඔබට තේරෙනවානේ. ගුණ ධර්මයන් පුරුදු පුහුනු කරන්න ලොකු තල්ලුවක් තියෙන නිසයි මව පියා මෙලොව පරලොව උපස්ථාන විශ්වාසයක් ඇති කෙනාට කල්‍යාණ ගුණ ධර්ම පිහිටනවා. කලගුණ පිහිටනවා ලෞකික සම්මා දෘශ්ඨියත් එක්ක. එතකොට ලැජ්ජාව බය මේකට වචන දෙකක් තියෙනවා. ඒ තමයි ලැජ්ජාවට කියනවා හිරි කියලා භයට කියනවා ඔත්තප්ප කියලා. එතකොට හිරි ඔත්තප්ප කියන්නේ ඔය දෙකට. හිරි ඔත්තප්ප කියන දේ බාහිර කෙනෙක් බිඳින දෙයක්ද? තමන් විසින් බිඳ ගන්න දෙයක්ද? ඒකාන්තයෙන්ම තමන් විසින් බිඳගන්න දෙයක්. ලැජ්ජාවයි භයයි තියෙන්නේ තමන්ගේ ඇතුලේ. අභ්‍යන්තරයේ තියෙන්නේ. එතකොට තමන්ට පව්

කරන්න තියෙන ලැජ්ජාව තමන් විසින් තමයි ශ්‍රද්ධාව නැත්නම් ලැජ්ජාව නැති කරගෙන පව් කරන්න පවට කිට්ටු වෙන්නේ. පවේ ප්‍රහාරයට එන්න දෙන්නේ. ඊ ලගට ශ්‍රද්ධාව ආදියේ ආරක්ෂාව නැත්නම් පව් කරන්න බයක් නැත්නම්, අන්න අකුසලයේ ප්‍රහාරයට ඉඩ දෙනවා. ලැජ්ජාවයි භයයි නැති කෙනා ප්‍රාණ ඝාතය කරනවා. හොරකම් කරනවා, අනාචාරයේ හැසිරෙනවා, බොරු කියනවා, කේලම් කියනවා, පරුශ වචන කියනවා, ලැජ්ජාවයි භයයි කියන දේ තියෙන කෙනා ඒක පහු කරගෙන දුශ්ශීල වෙන තැනට අකුසලයට ලං වෙන්නේ නෑ. එතනින්ම හැරිලා යනවා. ඒ නිසා ශ්‍රාවකයෙක් ජීවිතය ගොඩනගා ගන්න කැමති නම් පලමුව ශ්‍රද්ධාව ස්ථිර කරගෙන දෙවනුව කය වචනය සිත කියන තුන් දොර සංවර කරගෙන ලැජ්ජාව සහ භය ඇතිකර ගන්න ඕනේ. අකුසල් කරන්නත්, විපාකය භුක්ති විඳින්නත් භයක් ලැජ්ජාවක් තියෙන්න ඕනේ. ගොඩක් අය හිතන්නේ පලවෙනි එකයි, අන්තිම එකයි භයවෙනි හත්වෙනි ඒවයි විතරයි. දෙවෙනි තුන්වෙනි ඒව ගැන හිතන්නේ නෑ. හිතන්නේ නැති උනහම සිදුවන අනතුරත් අපි කතා කරමු පස්සේ. ඒ නිසා බොහොම වැදගත් මේ දෙක. ලැජ්ජා භය කියන දෙක. දැන් ඒ තියෙන්නේ තාප්පෙන් එලියේ ඉන්න අය ඒ සතුරන්ගෙන් ආරක්ෂා වෙන්න හදපු උපක්‍රමයක්. දැන් අපි හිතමු නගරයේ තාප්පය තියෙනවා, තාප්පයට උඩින් තියෙන පාර තියෙනවා, දිය අගල තියෙනවා, කණුව තියෙනවා. සතුරු සේනාව එනවා පහර දෙන්න. නගරය ඇතුලේ සතුරු සේනාවට ප්‍රති ප්‍රහාර දෙන්න ආයුධ තිබුනේ නැත්නම්, ලැජ්ජාව තිබ්බත් භය තිබ්බත් ශ්‍රද්ධාව නම් වු කණුව තිබ්බත් ආයුධ නැත්නම් මොකද වෙන්නේ? පහර දෙන්න බෑ. පහර දෙන්න පුලුවන් කමක් නෑ. එතකොට වෙන්නේ ලැජ්ජාව භය ඉක්මවාගෙන නගරය ඇතුලට පනින්න සතුරො උපක්‍රම හදා ගන්නවා. ලෑලි තියලා හරි ඉනිමං තියලා හරි මේ උපක්‍රම හදාගෙන බැම්ම පනින්න පුලුවන්. හැබැයි සතුරන්ව නවත්වන්න අපි ලග කිසිම විසඳුමක් නෑ. ඇයි අපි ලග ආයුධ නැහැ. ආයුධ නැහැ කියන්නේ සතුරා නවත්වන්න විසඳුමක් නෑ. අපි හිතමු ඔන්න දැන් ශ්‍රද්ධාවන්තයෙක් ඉන්නවා. ලැජ්ජාව තියෙනවා භය තියෙනවා අධික වශයෙන් රාගය එනවා. දැන් සෑහෙන කාලයක් ලැජ්ජාව භය නිසා පරිස්සම් වෙලා ඉදීවි. හැබැයි රාගයට දෙන්න ඕනෙ විසඳුම දන්නේ නැහැ. අධික රාගයට දෙන්න ඕනේ විසඳුම දන්නේ නැහැ කියන්නේ ආයුධ ලග නැහැ. තමන් ලග ආයුධය නැහැ. දැන් මේ ශ්‍රවකයා කාලයක් මෙහෙම ඉන්නා අතරේ සතුරෝ උපක්‍රම සොයාගෙන පැනපු ගමන් තමන් විනාශයට පත් වෙනවා. ඒ නිසා හොඳට තේරුම් ගන්න ඕනේ ඇතුලේ තියාගන්න ඕනේ ආයුධ ගබඩාවක්. සියලූ වර්ග

වල ආයුද මේ රජ්ජුරුවො තියගෙන ඉන්නවා. අන්න ඒ ආයුධ ගබඩාව තමයි ධර්ම දැනුම කියන්නේ.

කුමක්ද ආයුධ ගබඩාව කියන්නේ? ධර්ම දැනුම, බහුශ්‍රෘතභාවය, ශ්‍රෘතවත්භාවය. දැන් මේ අපි කියන ධර්ම කාරනා ටික පවා දරා ගන්න එක. උදේ කියපු දහම් කාරනා, අපි අවුරුදු පහ පුරාවටම කියපු ධර්ම කාරණා මේ ඔක්කෝම දරාගෙන තිබීම තමයි දහම් දැනුම කියන්නේ. එතකොට ඒ දහම් දැනුම ශ්‍රෘතවත්භාවය තමන් සතුරන්ට පහර දෙන්න භාවිත කරන ආයුධයක් වගේ. දැන් අපි හිතමු, ඔන්න සතුරු සේනාවක් පනිනවා, පනිනකොට ඊතල තියෙනවා නම්, දුනු භේවයො ලවා ඊතල නිකුත් කරන්න පුලුවන්, හෙල්ලවල් තියෙනවා නම් හෙල්ල නිකුත් කරන්න පුලුවන්. ඒ වෙලාවට ආයුධ නැත්නම් ඔන්න සතුරු සේනාව ඉනිමං තියාගෙන පැනගෙන එනවා. දැන් කට්ටිය ඔක්කොම කැලේ ගස් ටික කපාගෙන ඇවිල්ලා නගරය ඇතුලෙ තියෙන ගස් ටික කපල, දැන් අර වෙසක් කාලෙට කට්ටිය ඔක්කොම වෙසක් දවස කිට්ටු වෙනකොට ගස් කපාගෙන බට කපාගෙන ලී සුද්ද කරනවා වගේ ඊතල සුද්ද කරනවා, දුනු නවනවා, යකඩ තල තල කඩු හදනවා. දැන් ඕක ඔය වෙලාවට කරන්න හිටියොත් මොකද වෙන්නේ? ඊතලය උල් කර කර ඉදිද්දිමයි ඇවිල්ලා මරල යන්නේ. අන්න ඒ නිසා ඒ වෙලාවට කලබලයට කරන එක බොහොම අසාර්ථකයි. අන්න ඒ නිසයි කල් තියා ආයුධ ගබඩාව හදාගන්න කියන්නේ. දැන් බලන්න මේ අපිට සමාජයෙන් අහන්න ලැබෙන්නේ යුද්ධෙ කිට්ටු වෙලා ආයුධ ගබඩාව හදන්න කියලනේ. නාකි වෙලා වයසට ගිහිල්ලා ඇවිදගන්න බැරි වෙලා කොර වෙලා ඇස් දෙක පේන්නේ නැති වෙනකොට ඔන්න කමක් නෑ දැන් මොකටද මේ බණ අහන්න යන්නේ? මේ තරුණ අයනේ? එතකොට මොකක්ද මේ? සේනාව දැන් ලගට එනකොට අර බැම්ම දෙදරාගෙන යන කාලේ දිය අගල හිදීගෙන යන කාලේ, අර ඒහිකා ස්ථම්භය උඩ ඉන්න සෙබලුත් මැරුනම තමයි ආයුධ හදාගන්න කියන්නේ. එතකොට මොකද වෙන්නෙ? ඒ නිසා දැන් තේරෙනව නේද අසරණයි එතකොට දැන් මොකද වෙන්නෙ? ඒ නිසා තරුණ කාලෙදි ශ්‍රවණය කරන ධර්මය දරාගන්න දක්ෂ වෙන්න ඕනේ. ශෘතවත්භාවය ඇති කර ගන්න ඕනේ. ඒකේ තියෙනවා වචනයක් **සුතධරෝ සුතසන්නිචයෝ**, ඇසූදේ දරාගන්නවා **සන්නිචය** කියන්නේ රැස් කරගන්නවා. තටාකයක වගේ රැස් කරගන්නවා. තමන්ට ඕනෙ ඕනෙ වෙලාවට ඇදල ගන්න පුලුවන් විදියට ඒ ධර්ම කාරනා අනු පිලිවෙලින් මතක තියාගන්න. එතකොට හොඳ දහම් දැනුමක් ගොඩ නැගෙනවා. අන්න ඒක තමයි සුත සන්නිචයෝ. ඒක ආයුද ගොඩක් වගේ දහම් දැනුමක්

තියෙනවා. දිය අගල තියෙනවා, තාප්පේ තියෙනවා කණුවත් තියෙනවා ශ්‍රද්ධාවත් තියෙනවා. සෙබලු නැත්නම් මොකද වෙන්නේ. සෙබලු නැත්නම් ආයුධ තියෙනවා, අරක්කැමියට කියලා හරියනවද? මෙන්න තියෙනවා ඊතලේ, මෙන්න තියෙනවා දුන්න විදින්න. එයා දන්නේ හැඳිගාන්න විතරයි. එයාට විදින්න තේරෙන්නේ නැහැ. එහෙනම් මේකට ඉන්න ඕනේ සෙබලු පිරිසක්. කවුද ඉන්න ඕනේ? සෙබලු පිරිසක් සිටිය යුතුයි. සෙබලු පිරිස, ඒ කියන්නේ සිව් රග සේනාව. ඇත් අස් රිය පාබල කියන සිව් රග සේනාව නගරය ඇතුලේ ඉන්න ඕනේ. මේ ආයුද භාවිතා කරන්න දක්ෂ අය. අන්න ඒ සිව් රග සේනාව අංග හතරකින් සමන්විත සිවුරග සේනාව වගේ අංග හතරකින් සමන්විත වීර්යයක් පිහිටන්න ඕනේ ශ්‍රවකයාට. ඒකට කියනවා සතර සම්යක් ප්‍රධාන වීර්ය කියල. මේ සතර සම්යක් ප්‍රධාන වීර්ය සේනාව හා සමානයි.

මොකක්ද සතර සම්යක් ප්‍රධාන වීර්යය කියන්නේ? නූපන් අකුසලයක් නූපදවීම පිනිස කරන වීර්යය. ඉපදුනේ නැති අකුසලය උපදවා නොගෙන ඉන්න වීර්යය කරනවා. උපන් අකුසලය ප්‍රහානය කරන්න වීර්ය කරනවා. ඊලගට නූපන් කුසලය උපදවා ගන්න වීර්ය කරනවා. උපන් කුසලය භාවනාවෙන් ගුණ ධර්ම වලින් ශීල සමාධි ප්‍රඥා වලින් පවත්වන්නට, වැඩි දියුණු කරන්නට උත්සාහ කරනවා. වීර්ය කරනවා. මෙන්න මේ ආකාර හතරයි ආකාර හතරකින් යුතු වීර්ය කියන්නේ. බලන්න ඒක, සේනාවෙත් ඉන්නෙ සිව් රග සේනාවක් වීර්යයෙත් ආකාර හතරක්. බලන්න බුදුරජාණන් වහන්සේ කොච්චර මුල මැද අග ගැලපෙන උපමාද දේශනා කරලා තියෙන්නේ කියලා. නගරය ගැන කතා කරනකොට ඒ හැම එකක්ම ගුණ ධර්ම වලට ගැලපිලා යනවා. එතකොට දැන් අපි හිතමු අපි කිව්වා ආයුධ තියෙනවා ශ්‍රද්ධාවකුත් තියෙනවා, ලැජ්ජා භයත් තියෙනවා. සේනාව නැත්නම් යුද්ධ කරන්න කෙනෙක් නැහැ කියලා. ඒ කියන්නෙ මොකක්ද? දහම් දැනුම තියෙනවා වීර්ය නැත්නම් මොකද කරන්නේ. දහම් දැනුමෙන් දන්නවා උපන් රාගය නම්වූ අකුසලය ප්‍රහානය කරන්න අසුභය වඩන්න ඕනේ කියලා. අසුභය වඩන්න ඕනේ කියල දහම් දැනුම තියෙනවා. දැන් අසුභය වඩන්න වීර්ය නැහැ. එතකොට මොකද වෙන්නේ? ඔන්න දැන් රාගය උපදිනවා. මතක් වෙනවා මේකට මේ අසුභය වඩන්න ඕනේ. අනේ මට බෑ කියල ඔහේ ඉන්නවා. ඉන්නකොට මොකද වෙන්නේ රාගය වැඩි දියුණු වෙනවා.

ඊට පස්සේ ඔන්න කුසලයක් ඉපදුනා. අපි හිතමු ධර්මය අවබොධ කරන්න කැමැත්තක් ඇති උනා. බණ අහනකොට ධර්ම ශ්‍රවණය කියන හේතුව නිසා යෝනිසෝ මනසිකාරය කරන්න කැමැත්තක් ඇති වුනා. නුවනින් විමසන්න, ධර්මය පුහුණු කරන්න. ඒක තමයි උපන් කුසලය. දැන් ඉතින් ඔහොම ඉන්නකොට තමන් දන්නවා දැන් නුවණින් විමසන්න කැමැත්තක් තියෙනවා. මේක කොහොම හරි කරගන්න ඕනේ. අවබෝධ කරගන්න ඕනේ කියල හිතනවා. අපි දැන් හිතමු අද බණ අහද්දීත් උදාහරනයක් විදියට දැන් ඔබට හිතෙනවා මේක පුරුදු පුහුණු කරන්න ඕනේ අවබොධ කරන්න මහන්සි වෙන්න ඕනේ මේක කරන්න ඕනේ කියලා. ඒක උපන් කුසලයක්. ඊට පස්සේ ගෙදර යනවා. ගෙදර ගියාට පස්සේ මතක් වෙනවා මේ බණ භාවනා කරන්න ඕනේ, ධර්මයේ හැසිරෙන්න ඕනේ, දැන් දහම් දැනුමක් ලැබුනා, දැන් මේ වෙලාවේ ධර්මය නුවණින් විමසලා ධර්මය ටිකක් අහලා පුරුදු පුහුනු කරන්න ඕනේ. වීර්ය නැති කෙනා මොකද කරන්නේ එයා කල්පනා කරනවා, අද වැඩසටහනට ගිහිල්ලා ආවා විතරයි. මහන්සියි, උදේ අටේ ඉඳල සවස හතර පහ වෙනකම් ඉදල හරි මහන්සියි. අද බෑ අද නිදාගන්නවා කියලා නිදා ගන්නවා. වීර්ය නැති කෙනා නිදාගෙන ඉන්න අතරේ කල්පනා කරනවා, මෙහෙම නිදාගෙන ඉන්න හොඳ නෑ කියලත් කිව්වා, දැන් එයාට දහම් දැනුම තියනවානේ. එයාට මතක් වෙනවා. එහෙනම් මොකද කරන්නේ, මම එහෙනම් එලාම් එක තියල, උදේට නැගිටලා ඊයේ ඉගෙන ගත්තු දේවල් පුරුදු පුහුනු කරලා හෙට සිට මම අලූත් වෙනවා කියල හිතනවා. කියල හිතලා ඇස් දෙක පියාගෙන නිදා ගන්නවා. එලාම් එකත් තියලා. කොහොම හරි සුපුරුදු විදියට තමන්ට කලින් එලාම් එක අවදි වෙනවා. ඊට පස්සෙ එලාම් එකට පස්සේ තමන් නැවත නිදා ගන්නවා. අවදි වෙනකොට ටිකක් පරක්කු වෙලා, දැන් වෙලා මදි. ඔෆිස් එකට යන්නත් තියෙනවා. ට්‍රැෆික් මතක් වෙනවා. ඒ නිසා ටිකක් කලින් යන්න ඕනෑ. හැමදාම මම පරක්කු වෙලා යන එකේ අද ටිකක් කලින් ඔෆිස් එකට යනවා. ඇයි අලූත් මිනිසෙක් නේ කියල හිතාගෙන පිටත් වෙලා යනවා. ඊට පස්සේ ඔෆිස් එකේදි, දැන් හිතට ටිකක් හරි මදි වගේ. ඇයි උදේ භාවනා කරන්න බැරි වුනානේ හිතන් හිටියට. දැන් ඉතින් මෙයා මොකද කල්පනා කරන්නේ. මෙයා හිතනවා අද ඉක්මනටම කාර්යාලයේ වැඩ කටයුතු අවසන් වෙලා ගෙදර ගිහිල්ලා මූණ කට සෝදාගෙන කාමරේට වෙලා මම පොඩ්ඩක් භාවනා කරනවා කියලා. හිත හිත ඉඳලා මහන්සි වෙලා මහන්සිවෙලා ගෙදර යනවා. ගෙදර ගිහිල්ලා බඩු ටික පැත්තකට තිබ්බ ගමන් ඔක්කෝම සුළු වෙලාවකට අමතක වෙලා යනවා. අමතක වෙලා ගිහිල්ලා ආයෙත් රෑට කෑම කාලා නිදාගන්න කිට්ටු වෙනකොට මතක් වෙනවා මොකක්ද හිතුවේ කියලා.

එතකොට ඒ රාත්‍රියත් ඉවරයි. වීර්ය නැති කෙනාට මොකක්ද වෙන්නේ? ආයුධ තියෙනවා ප්‍රහාරයට අවශ්‍ය කරන, භාවිතා කරන්න උවමනාවක් නෑ. ඇයි භාවිතා කරන්න කෙනෙක් නෑ. වීර්ය නම්වූ සේනාව නෑ. එතකොට රාගය ඉපදෙනවා. ඉපදෙන රාගය තමන්ව යට කරගෙන යනවා. දන්නව මොකක්ද රාගයට කරන්න ඕනේ කියල? නමුත් කරන්නේ නෑ. කරන්නේ නැත්තේ ඇයි? අමනුෂ්‍ය ප්‍රශ්නයක්ද? මොකක්ද ප්‍රශ්නය? වීර්ය නැතිකම. තමන්ගේ තුලම තියෙන දුර්වලතාවය. තරහ යනවා දැන් හොඳට තරහා යනවා, දැන් දන්නවා මෛත්‍රිය කරන්න ඕනැ කියලා, මෛත්‍රිය කරන්න ඕනෑ නමුත් මෛත්‍රිය කෙරෙන්නේ නෑ. මොකක්ද ප්‍රශ්නය? වීර්ය නැතිකමයි ප්‍රශ්නය. මෝහ සහගත සිතුවිලි තුල හිරවෙනවා ඔහේ ඉන්න ගමන්. දැන් අනිත්‍ය වඩන්න ඕනේ, අනිත්‍ය වඩන්න හිත දෙන්නේ නැහැ. හේතුව තමයි වීර්ය නැති කම. උත්තරෙත් දන්නවා, ප්‍රශ්නෙත් තියෙනවා උත්තරේ භාවිතා කරන්න ශක්තියක් නෑ වීර්යය නෑ. ඊතලත් තියෙනවා කඩුත් තියෙනවා සටන් කරන්න සෙබලු නෑ අභ්‍යන්තරයේ. ඒ නිසා සෙබලා දෙන්නා ගානෙ හරි දැන් බඳවා ගන්න පටන් ගන්න ඕනේ. සෙබලු බඳවාගන්න පටන් ගන්න ඕනේ දැන්. ටික ටික ටික ටික බඳවා ගන්න, රාගය ප්‍රහානය අසුභය භාවිතා කරන සෙබලුන් ටික දැන් බඳවාගන්න පටන් ගන්න. ද්වේශය ප්‍රහාණය කරන්න මෛත්‍රිය වඩන්න දක්ශ සෙබලු ටික දැන් බඳවාගන්න පටන් ගන්න. හිංසාව ප්‍රහාණය කරන්න කරුණාව වඩන්න පුලුවන් සෙබලු බඳවාගන්න පටන් ගන්න. ටික ටික සෙබල සේනාව ශක්තිමත් වෙනකොට, අන්න වීර්ය කියන එක උපදිනවා. වීර්ය උපදිනවා දහම් දැනුමත් තියාගෙන යෙදවෙන්නේ නැත්නම් ප්‍රතිපදාවේ, හොඳටම උත්තරය ලබාගන්න බුද්ධ දේශනාවේ, නැත්තේ වීර්යයයි. ඔබට හිතෙන්න පුලුවන්, ශ්‍රද්ධාවත් තියෙනවා මගේ, පව් කරන්න ලැජ්ජාවත් තියෙනවා භයත් තියෙනවා. ඒ නිසාම සිලුත් රැකෙනවා දහම් දැනුමත් තියෙනවා හැබයි මේක යන්නේ නැහැ ඉස්සරහට, එහෙම යයිද? යන්නේ නැහැ. වීර්යයක් තියෙන්න ඕනේ. සෙබලු ඉන්න ඕනෑ. අන්න ඒ නිසා සෙබල සේනාව නම් වූ සතර සම්යක් ප්‍රධන් වීර්ය උපදවා ගන්න මෙතෙන්ට යනකම් හදාගන්න කෙනෙක්ට මේ අඩුව හදාගත්ත ගමන් ඉස්සරහට යනවා දකින්න පුලුවන්. ඊට පස්සේ බුදුරජාණන් වහන්සේ වදාළා දැන් සතුරු සේනාවක් වට කරගත්තු වෙලාවේ වගේම, සමහර සතුරෝ දැනගන්නවා මේ නගරය බොහොම ආරක්ශිතයි කියල. කොහොමද ආරක්ශිත? ශ්‍රද්ධාව තියෙනවා, පවට ලැජ්ජාව භය තියෙනවා. දහම් දැනුමක් තියෙනවා, වීර්ය තියෙනවා. එහෙනම් ලේසියෙන් නගරය පිට ඉඳගෙන නගරයට පහර දෙන්න බැහැ. මේ ශ්‍රවකයාට පිටත ඉඳන් පහර දෙන්න බැහැ. වීර්යයක් තියෙන ශ්‍රවකයෙක්. ඒ නිසා ගුප්ත ක්‍රමයකට

මේ ශ්‍රාවකයාගේ ඇතුලට රිංගන්න ඕනේ. ශ්‍රාවකයාගේ ඇතුලට වෙන වේශයකින් ඇවිල්ලා රිංගන්න ඕනේ කියලා. දැන් කවුරුහරි කෙනෙක් වෙස් වලාගෙන එනවා පිරිසක්, වෙස්වලාගෙන එන්නේ. වෙස් වලාගෙන ඇවිල්ලා තාප්පෙන් පනීද? වෙස් වලාගෙන එන කෙනා තාප්පෙන් පනින්නේ නෑ. මොකද?. වෙස්වලාගෙන එන කෙනා බලන්නේ සාමාන්‍ය විදියට ඇතුල් වෙන්න. වෙස් වලාගෙන එන කෙනා තාප්පෙන් නෙවෙයි පනින්නේ. වෙස් වලාගෙන එන කෙනා පුලුවන්ද? ඈත තියා හඳුනා ගන්න ශ්‍රද්ධාව නම් වූ කුලූණෙන් ඒත් අමාරුයි, හරි අමාරුයි. වෙන ස්වරූපයකින්නේ එන්නේ, ඒ නිසා ඈත තියා හඳුනාගන්නත් අමාරුයි. මිතුරු වේශයෙන් එන නිසා තාප්පේ උඩ ඉන්න කෙනාටත් හඳුනාගන්න අමාරුයි. එයාව හඳුනාගන්න පුළුවන් එක තැනක් තියෙනවා. ඒ තමයි දොරටුව, දොර ලගින් කවුරු උනත් ඇතුලට එන්නේ දොර ලගින්. ඒ නිසා දොර ලග තියෙනවා බොහොම ඥානවන්ත තීක්ශණ බුද්ධියක් තියෙන හතුරා මිතුරා හඳුනාගන්න දක්ශ දොරටු පාලකයෙක්. ඒ දොරටුපාලකයා තමයි සතිය කියල බුදුරජාණන්වහන්සේ වදාලේ. ඒක තමයි සිහිය කියන්නේ. අපි හිතමු දොරටු පාලකයා දක්ෂ නැත්නම්, දැන් අද දොරටුපාලකයා කිව්වම මතක් වෙන්නේ කවුද? මුර කරන කට්ටිය.

දැන් මේ දොරටු පාලකයාගේ ලක්ෂණ මොනවාද? බුදුරජාණන් වහන්සේ දේශනා කලේ, තීක්ෂන ප්‍රඥාවක් තියෙන හතුරා මිතුරා හඳුනාගන්න දක්ෂ බොහොම ශක්තිමත් හොඳ කෙනෙක් වෙන්න ඕනේ. අපි හිතමු, දොරටු පාලකයා විදියට ඉන්නවා පිඹපු ගමන් දෙකට කඩන් වැටෙන කෙනෙක්. මොකද වෙන්නේ, බොහොම ලේසි ඇතුලට යන්න. ඒ නිසා දොරටුපාලකයා විදියටත් ඉන්න ඕනේ බොහොම දක්ෂ කෙනෙක්. ශක්තිමත් කෙනෙක්, තීක්ශන බුද්ධියක් තියෙන කෙනක්. සෙබලෙක් වගේ ශක්තිමත් කෙනක් දොරටුපාලකයා විදියට ඉන්න ඕනේ. මොකද, ඒක ඒ තරම්ම ආරක්ෂිත ඒ තරම්ම වැදගත් තැනක්. දොර කියන්නේ, දොරටුව කියන්නේ ඒ තරම්ම වැදගත් තැනක්. ඒ නිසා එතන බොහොම දක්ෂ තරුණ ශක්තිමත් මොලය තියෙනම කෙනා ඉන්න ඕනේ එතන. ඔන්න කවුරු හරි කෙනෙක් එනවා, ඇවිල්ලා දොරටුපාලකයාට කාලයත් තිස්සේ දන්න කෙනෙක් වගේ හා කොහොමද කියලා තට්ටුවක් දාලා හිනාවක් දානවා. දොරටු පාලකයා හිතනවා, මේ මාව දන්න කෙනෙක් වෙන්න ඕනේ, මට ඉතින් මතක නැනේ. මෙතනින් යන එන කට්ටිය කී දාහක් යනවද, කවද හරි දැකලා ඇති කියලා හා යන්න මල්ලී කියල ඇතුලට දානවා. රැකවරනයක්ද අනතුරක්ද? අනතුරක්, බලන්න වෙස් වලාගෙන ආව

කෙනා දොරටුපාලකයා හිතන්නේ මතන්නේ නැති කෙනෙක්නම් හරි ලෙහෙසියෙන් ඇතුලට ගිහිල්ලා රජ්ජුරුවොම මරලා එන්න පුලූවන්නේ. ඒ නිසා වීර්යය තියන කෙනා වුනත් එතනින් එහාට තියෙන ඔක්කොම කැඩිල යනවා සිහිය තිබුනේ නැත්නම්. සේනාව ඉන්නවා, දහම් දැනුම තියෙනවා ලැජ්ජා භය තියෙනවා ශ්‍රද්ධාවත් තියෙනවා, ඔක්කොම කැඩිලා යන්න පුළුවන් සිහිය තිබුනේ නැත්නම්. ඒ නිසා සිහිය බොහොම වැදගත්. සිහිය තියෙන දොරටුපාලකයා හඳුනාගන්න සතුරා කවුද? අකුසලය. මිතුරා කවුද? කුසලය. අකුසලය අකුසලය විදියට හඳුනාගන්න දක්ෂයි සිහිය. කියන දොරටුපාලකයා. කුසලය කුසලය විදියට හඳුනාගන්න දක්ෂයි. දොරටුපාලකයා කොහොමද මේක හඳුනාගන්නේ? දොරටු පාලකයා පරික්ෂා කරනවා හැම මොහොතෙම තැන් හතරක්. දැන් අපි හිතමු ඔන්න අලූතින් කෙනෙක් එනකොට මුර කරන කෙනෙක් බෑග් එක පරීක්ෂා කරන්වා, හැඳුනුම්පත පරීක්ෂා කරනවා ඇඳුම් පරීක්ෂා කරනවා. අන්න ඒ වගේ තැන් පරීක්ෂා කරනවනේ. මේ දොරටු පාලකයාත් තැන් හතරක් පරීක්ෂා කරනවා. තැන් හතරක් ගැන අවධානයෙන් ඉන්නේ. ඒ හතර තමයි, කය, විදීම්, සිත අරමුණු කියන තැන් හතර. කය කෙරෙහි අවධානයෙන් ඉන්න එකට කියනවා කායානුපස්සනාව කියලා, විදීම් කෙරෙහි අවධානයෙන් ඉන්න එකට කියනවා වේදනානුපස්සනාව කියලා. සිත ගැන අවධානයෙන් ඉන්න එකට කියනවා චිත්තානුපස්සනාව කියලා. අරමුණු ගැන අවධානයෙන් ඉන්න එකට කියනවා ධම්මානුපස්සනාව කියලා. සිහිය පවත්වනවා මේ තැන් හතරේම. කය කෙරෙහි පවත්වනවා, විදීම් කෙරෙහි පවත්වනවා, සිත කෙරෙහි පවත්වනවා, අරමුණු කෙරෙහි පවත්වනවා. ඒ කියන්නේ සතුරාට අපිව මුලාකරවන්න පුළුවන් තැන් හතර. ඒ නිසා ඒ හතර කෙරෙහි අවධානයෙන් ඉන්නවා අන්න එහෙම තෝරා ගත්ත නම් හරි.

දැන් අපිට හිතෙන්න පුලූවන් අපි කොහොමද අකුසලය හඳුනා ගන්නේ. අකුසලයක් වෙලා සෑහෙන දුරක් ගියාට පස්සෙනේ අපිට මතක් වෙන්නේ. ඒ ප්‍රශ්නයට පිළිතුර තමයි අකුසලය අපිව රවට්ටන තැන් හතර අල්ලාගන්න ඕනේ. අකුසලය අපිව රවට්ටන්නේ එක්කෝ කය හරහා, එහෙම නැත්නම් විදීම් හරහා එහෙම නැත්නම් සිත හරහා එහෙමත් නැත්නම් අරමුණු හරහා. මෙන්න මේ තැන් හතරෙන් තමයි අකුසලය අපිව රවට්ටගෙන යන්නේ. දැන් බලන්න කය කෙරෙහි අවධානයෙන් සිහියෙන් හිටියේ නැත්නම් අපි හිතමු දොරටුපාලකයා දක්ෂ නෑ. දැන් එතකොට කය කෙරෙහි සිහියෙන් නෙවෙයි ඉන්නේ. දැන් අනිත් පැති වලින් අකුසලය ආවේ නැහැ. දැන් දොරෙන්ම එනවා කය කෙරෙහි සිහියෙන් ඉන්නේ නැති කෙනෙකුට ඔන්න අපි හිතමු එයාට දකින්න ලැබෙනවා

බොහොම වටිනා දෙයක් තියෙනවා. වටිනා දෙයක් ඔන්න දකින්න ලැබුනා. දැන් මෙයා මොකද කරන්නේ? දැන් මෙයා ලග තිබුන අත දිග ඇරලා අරක ගත්ත, අත දිග ඇරලා අරක ගත්තේ තමන්ගේ නොවන බව දැන දැන. අතට ගත්තට පස්සේ මැණිකක්. දැන් මැණික තියෙන්නේ තමන්ගේ අතේ. දැන් මුලින්ම කය කෙරෙහි සිහිය තිබුනේ නෑ. ඊට පස්සේ විඳීම. මැණික ඇස් දෙකෙන් දැක්ක ගමන් සැප විඳීමක් ඇති වුනා. මේ සැප විඳීම විඳීමක්, සිහිය පැවැත්විය යුතු දෙයක්. මේ විඳීම නිසා රාගානුසය ඇති වෙන්න පුලුවන් කියලා දන්නේ නැත්නම් ඒ කියන්නේ දොරටු පාලකයා එතන බලාගෙන නැහැ. අන්න දැන් අතේ තියෙන මැණික වින්දා. ඔන්න දෙවෙනි තැනිනුත් කඩාගෙන වැටුනා. අත දිග හැරල ගත්තු ගමන් කයෙන් කඩාගෙන වැටුන. ඊට පස්සේ ඒක අනවබොධයෙන් වින්දා. විඳීමෙන් කඩා වැටුනා. දැන් සරාග චිත්තය ඉපදුනා. ගන්න හිතෙනවා මේ මැණික. සිතෙන් කඩා වැටුනා. කාමච්ඡන්දය අරමුණු වුනා. අරමුණු වලින් කඩා වැටුනා. දැන් මැණික අරන් සාක්කුවේ දා ගත්තා. තවත් හොරකමක් සිද්ද උනා. ලැජ්ජා භය නැති උනා. ඊට පස්සේ වීර්යය නෑ. දහම් දැනුම භාවිතා වුනේ නෑ. අන්න හතුරා ඇතුලට ආවා. විනාශ කරා සම්පුර්ණයෙන්ම ධර්ම මාර්ගය. සීලය බිඳුනානේ. දැන් ඉතින් මුල ඉඳලා ආයේ ශීලය හදාගන්න ඕනේ.

ඒ වගේ මේ තැන් හතරෙන් කොච්චර ඇතුල් වෙනවාද සතුරෝ. කොච්චර ඇතුල් වෙනවාද? අපි හිතමු අනපේක්ෂිත විදියට මේ කයට සැප සහගත පහසක් ස්පර්ශ උනා. අනපෙක්ෂිත විදියට. ඊට පස්සේ ඒක අනපේක්ෂිත දෙයක්. තමන් මොකද කරන්නේ. ඒ සැප සහගත පහසට යොමු වෙනවා. කය සැප සහගත පහසට යොමු කරනවා මට සැප සහගත පහස තව ඕනේ කියල. ඒකත් එක්කම මොකද වෙන්නෙ? කය කෙරෙහි නැවතත් සිහිය නෑ. විඳීම කෙරෙහි නැවතත් සිහිය නෑ. සරාග චිත්තයක් තිබුනා. නැවතත් සිහිය නෑ.

කාමච්ජන්දය ඉපදුනා ඔන්න සිහිය නෑ. අර හතර කඩාගෙන ආයෙත් ඇතුලට ගියා. ලැජ්ජා භය නැති උනා. ධර්ම මාර්ගයේ හැසිරෙන කෙනා විනාශ කරා. එතකොට දැන් බලන්න ඔය තැන් හතරෙන්මයි එන්නේ. කය පරිස්සම් කරගෙන තියාගන්නව. කායානුපස්සනාව වඩන්න ඕනේ. එහෙනම් දැන් තේරුම් ගන්න ඕන ඔබ වීර්යවන්තයෙක් නම් දැන් ඔබ ලග මේ වෙනකොට තිබෙන ආරක්ෂිත අංග ගත්තොත් ඔබ ශ්‍රද්ධාවන්තයෙක් නම් ලැජ්ජා භය තියෙනවා නම්, දහම් දැනුමක් තිබෙනවා නම්, වීර්යවන්තයෙක් නම්, හොඳට ධර්මයට කැප වෙන්න පුළුවන් නම්, දැන්

කායානුපස්සනාව වඩන්න ඕනේ. කායානුපස්සනාව කියන්නේ ආනපානාසතිය කායානුපස්සනාවට අයිතී. ඒක වැඩෙන්නේ නැත්නම් ඉරියාපථය වඩන්න.කායානුපස්සනාවටම අයිතී. ඊලගට සති සම්පජඥය කායානුපස්සනාවට අයිතී. ඊ ලගට අසුභ භාවනාව කායානුපස්සනාවට අයිතියි. ධාතු මනසිකාරය කායානුපස්සනාවට අයිතියි. මලකුනක් කුණුවී යන අවස්ථා නවය සිහි කිරීම කියන නවසීවථිකය කායානුපස්සනාවට අයිතියි. දැන් කායානුපස්සනාව වඩමින් කය කෙරෙහි සිහියෙන් ඉන්නවා. අත පය දිග හරිත්දී පවා දන්නවා අත පය දිග හරිනවා. හොඳට දැනගෙන අත පය දිග හරිනවා. එතකොට තමන්ට අයිති නැති දෙයක් නම් කිසිසේත්ම ඒක අල්ලන්නේවත් නෑ. අරන් තියන්න ඕනේ දෙයක් නම් අරන් තියන්න ඕනේ කියන අදහසින් අරන් තියනවා. විදීම් කෙරෙහි අවධානයෙන් අරන් තියන්නේ. මොකද අරන් තියන්න අරගෙන යනකොට පවා විදීමට මුලා වුනොත්. ඔන්න සල්ලි ටිකක් වැටිලා තිබ්බා. අරන් තියන චේතනාවෙන් කය මෙහෙයවුවා. හැබැයි විදීමට සිහිය නැත්නම් ඔන්න ඊලග මොහොතේ අතේ සල්ලි මිටිය තියෙනවා කවුරුත් නෑ, ගන්න හිතෙනවා. ඇයි සැප විදීමක් ඇති උනා. ආශා සිතෙන සිතුවිල්ලක් ඇති උනා. කාමඡ්ඡන්දයත් ආවා අරමුණුවල. ඒ නිසා හොඳට කල්පනා කරන්න ඕනේ සතිපට්ඨාන හතරම. හතර කෙරෙහිම එක විට අවධානය තබා ගැනීම අවශ්‍යයි. එකකට පස්සේ එකක් විස්තර කරාට, පුරුදු කරත්දි හතර කෙරෙහි එක විට අවධානය තබා ගැනීම අවශ්‍යයි. නැත්නම් මෙතනින් කය පරිස්සම් කරගන්නවා. අනිත් පැත්තෙන් විදීමෙන් අහු වෙනවා. විදීම පරිස්සම් කරගන්නවා අනිත් පැත්තෙන් සිතුවිල්ලකින් අහු වෙනවා. සිතුවිල්ලක් පරිස්සම් කරලා පැත්තකින් තිබ්බා, කාමඡ්ඡන්දය අරමුණක් විදියට මතු උනොත්, දැන් පැත්තකින් තිබ්බ දේ කෙරෙහිත් ආශාවක් ඇති වෙලා ආයෙ හිතිල ගන්න පුලුවන්. එහෙම ස්වභාවයක් තියෙන්නේ. ඒ නිසා හොඳට සිහිකරගන්න ඕනේ මේක, සතිපට්ඨාන හතර කෙරෙහිම එක විදියට සිහිය පවත්වන්න අවශ්‍ය දෙයක්. එහෙනම් දොරටු පාලකයා යම්තාක් දක්ෂ වෙනවද, ඔබ ඒ පමණින්ම දක්ෂ විදියට මේ තැන් හතර වෙලාගෙන ඉන්න ඕනේ. සතර සතිපට්ඨානය පුරුදු වෙන ආකාරයට. සතර සතිපට්ඨානය පුරුදු වෙනවා නම් දැන් මේ වෙනකොට සෑහෙන්න ආරක්ශිතයි. එතකොට ආරක්ශිත අංග කීයද? දැන් හයක් තියෙනවා. මේ ආරක්ශිත අංග හය මෙහෙම තියෙත්දී, දැන් අපි පාරක් ගැන දෙවනුව කතා කරා නේ. ඒ කියන්නේ තාප්පේ තියෙනවා. තාප්පේ තියෙන නිසයි පාරක් ගැන කතා කරේ. හත්වෙනි එක විදියට බුදුරජානන්වහන්සේ වදාලේ තාප්පයේ සිදුරු නොතිබිය යුතුයි කියල. බළල් පැටියෙකුටවත් රිංගන්න බැරි වෙන්න තාප්පේ සියලු

සිදුරු වහන්න අවශ්‍යයි කියලා. ඇයි මෙහෙම කියන්නේ. දැන් බලන්න මෙතෙන්ට යනකම්, දොරටු පාලකයා ලගට යනකම් සෑහෙන්න ආරක්ෂාවක් කියල අපිට තේරෙනවා. නමුත් අන්තිමටම තාප්පේ සිදුරු වහන්න කියනවා. පුංචි බළල් පැටියෙකුටවත් රිංගන්න බැරිවෙන්න. ඒක බොහොම වැදගත් දෙයක්. ඇයි බළල් පැටියෙක් කියන වචනය තියෙනවා දේශනාවේ. ඇයි බළල් පැටියෙක් කියන්නේ සාමන්‍යයෙන් පුංචි පූස් පැටියෙකුට පුලූවන් පුංචි තැනකින් රිංගන්න. පොඩි තැනකින් රිංගන්න පුලූවන්. එතකොට මේ විදියට මේ බළල් පැටියෙක් රිංගන එක නගරයට විපතක් වෙන්නේ කොහොමද? ඔන්න සතුරො ඉන්නවා. සතුරා මොකද කරන්නේ, මේ සතුරා අපි හිතමු ලෑල්ලක් හරි දාලා, ලෑල්ලක් නැත්නම් බළල් පැටියා එහා පැත්තට විසි කරලා හරි බළල් පැටියෙක් තාප්පය ලගට කිට්ටු කලා. මේ බළල් පැටියගේ ශරීරයට ඇතුල්කරා වසංගතයක්. බළල් පැටියා යනවා සිදුර ඇතුලෙන් නගරයට. පැන් පොකුනු වලින් වතුර බොනවා. ඊලගට තියෙන කෑම වලට හොස්ස දානවා. ඊ ලගට මිනිස්සුන්ව ගිහින් ලෙව කනවා. ටික කාලයක් යනකොට ඇතුලෙ ඉන්න මිනිස්සු මැරෙන්නේ මොනව වෙලාද? වසංගතයක් හැදිලා මැරෙන්නේ. දොරටුපාලකයත් මැරෙනවා. සේනාවත් මැරෙනවා. වටේ ඉන්න අයත් මැරෙනවා. ඇතුලේ ජනගහනයත් මැරෙනවා. රජ්ජුරුවොත් මැරෙනවා. ඒ තරම් භයානකයි තාප්පයේ සිදුරක් තිබ්බොත්. සිදුරු නැති තාප්පය බුදුරජාණන්වහන්සේ සමාන කලේ ප්‍රඥාවට. ප්‍රඥාවේ සිදුරු තියෙනවා කිව්වෙ වැරදි විදියට කල්පනා කරනවා. වැරදි විදියට තේරුම් ගන්නවා. වැරදි විදියට අවබෝධ උනා කියලා.

වැරදි අවබොධයක් හදාගන්නවා. මෙයයි ධර්මය. මෙයයි විනය කියලා. වැරදි විදියට තර්ක විතර්ක හදා ගන්නවා. එතකොට මොකද වෙන්නේ. හොඳට සතිපට්ඨානය පුරුදු පුහුනු කරගෙන ඇවිල්ලා වැරදි විදියට ලෝක ධර්මතාවය අවබෝධ කරගෙන තේරුම් ගත්තා කියලා හිතාගෙන ඉන්නවා. හැබැයි ඒක ධාර්මික නෑ. වැරදියි. ඒකෙන් වෙන විනාශය තමයි, තමන්ට වැරදුනා කියන එක තේරෙන්නේ නැතුව යනවා. ඇයි තමන් හිතන්නේ තමන්ට අවබොධ උනා කියලා. දැන් සමහර අය  ධර්මය ගැන කතා කරමින් තර්ක ඉදිරිපත් කරනවා ඒ අයට කොච්චර කිව්වත් ඒක වැරදී කියල ඒක පිළිගන්නේ නෑ. සමහර ධර්ම කරුණු ගැන ඒ අය හිතාගෙන ඉන්නේ ඒ විදියටමයි. ඒ අය ඇත්තටම ඒ සතිපට්ඨානය පවා වඩන්න ලොකු මහන්සියක් ගන්නවා. නමුත් ප්‍රඥාව පැත්තෙන් විශාල

වැරදි වැටහීම් රාශියක ඉඳගෙන වැරදි අවබොධයකින් ඉන්නේ. ඒක වසංගතයක් ඇතුල් කරල මුළු සේනාවම මැරුවා වගේ බොහොම භයානක දෙයක් ප්‍රඥාව වරද්දවා ගැනීම. ඒ නිසා ප්‍රඥාව හරි හැටි ආරක්ෂා වෙන්න නම් සිදුරු නැති තාප්පයක් වගේ ආරක්ෂිත තාප්පයක්, ආරක්ෂිත පිරියමක් කරගන්න ඕනේ මේකට. එතකොට අභ්‍යන්තරයට රිංගල මිත්‍යා මතවාද මිත්‍යා දෘශ්ඨී නිසා වැරදි ප්‍රඥාවක්, හරි ප්‍රඥාවක් හැටියට තමන්ට තේරෙන්නේ නෑ. ප්‍රඥාව කියල කියන්නේ ලඋදයත්ත ගාමිණියා ප්‍රඥා, අරියා නිබ්බේදිකාය සම්මා දුක්ඛක්කාය ගාමිණියාල ඒ කියන්නේ හටගෙන වැනසී යන ස්වභාවය සහිත ආර්ය වු කලකිරීමක්.  මේ ප්‍රඥාවේ තියෙනවා ලක්ෂන දෙකක්, ඒ තමයි කලකිරීමක් තියෙන්න ඕනෑ. ආර්ය වු අවබොධයකින් ඇතිවෙන කලකිරීමක්. වැරදුන කෙනෙකුගේ ප්‍රඥාවට තියෙන්නේ ආඩම්බරයක් මාන්නයක් ඇති වෙන්නේ, අනිත් අය පහත් කරලා තමන් ඉස්මතු කරන ස්වභාවයක් තියෙන්නේ. නියම ප්‍රඥාවෙ තියෙන්නේ අවබොධයෙන් කලකිරීමක්. ආර්ය වු නිර්වේදය අවබෝධයෙන් කලකිරීම කියන්නේ ඒකයි. සම්මා දුක්ඛක්කය ගාමිණියා කියන්නේ මනා කොට දුක් ගෙවා දමන ස්වභාවයෙන් යුක්ත, දුක ගෙවනවා කියන්නෙ තන්හාව ක්ෂය වෙනවා කියන එක. ඒ ප්‍රඥාවෙන් තමන්ට තේරෙන්න ඕනේ. තමන් දියුණු කරන ප්‍රඥාවෙන් තණ්හාව අඩුවෙනවා කියල, අවබෝධයෙන් කලකිරීම තියෙනවා නම් ඒ ප්‍රඥාව උදයත්ත ගාමිනියා ප්‍රඥාවයි. ඒ කියන්නේ හටගෙන නැතිවෙන ආකාරය දැකීමේ ප්‍රඥාවයි. ඒ ප්‍රඥාවෙන් තමයි ඒක සිද්ධ වෙන්නේ, ඒ නිසා අවබොධයෙන් කලකිරීමත්, දුක ගෙවෙනවා කියන එක තමන්ට තේරුම් ගැනීමත් කියන එක බොහොම වැදගත්. තමන්ගේ ප්‍රඥාව දියුණු වෙනවාද කියලා බලද්දී ඒ නිසා හැම වෙලවෙම කල්පනා කරලා බලන්න ඕනේ තමන්ට හිතුනනම් ඔන්න වැරදි මතයක් ආවා කවුරු හරි වැරදි දෘෂ්ඨියක් ඔලුවට දැම්මා. දැන් බලන්න ඕනේ මේක අවබොධයෙන් කලකිරීමට හේතු වෙනවද, නැත්ද? මේක දුක ගෙවෙන ස්වභාවයෙන් යුක්තද? දැන් තමන්ට තේරෙනවා නම් දුක ගෙවෙන්නේ නෑ කියල අවබෝධයෙන් කලකිරෙන්නේ නෑ. මේකෙන් වෙන්නේ මාන්නය ඇතිවීම විතරයි. එහෙනම් මේක හටගෙන නැතිවී යන ස්වභාවය මම තවම දැකලා නෑ ඒ නිසා හටගෙන නැතිවී යන ස්වභාවය දැකීමේ ප්‍රඥාව උපදවා ගත යුතුයි. ඒකට හානිදායකයි ධර්මානුකුල නොවන විදියට ප්‍රඥාව පුරුදු පුහුනු කරන්න යාමෙන්. ඒ නිසා තමන් තේරුම් ගන්න ඕනේ. ඕක තමයි හත් වෙනි එක ආරක්ෂාවට. දැන් මේ ශ්‍රවකයාට තමන්ගේ ජීවිතය රැක ගන්න බුදු රජාණන් වහන්සේ වදාල ආරක්ශිත අංග හත මොනවාද? ශ්‍රද්ධාව, හිරිය, ඔත්තප්ප ඊලගට ශ්‍රැතය, වීර්යය, සතිය, ප්‍රඥාව දැන් කො මේකේ ශීලය රැකෙන්නේ

කොතනින්ද? හිරි ඔත්තප්ප තියෙන කෙනා තුල ශීලය රැකෙනවා. එතකොට මෙතන තියෙනව ශ්‍රද්ධාව, ඊ ලගට ලැජ්ජා බය ශ්‍රැතය තියෙනවා ඊ ලගට වීර්ය තියෙනවා සතිය තියෙනවා ප්‍රඥාව තියෙනවා. දැන් අපි මේ කාරණා හත මීට කලින් අහලා තියෙනවා නේද? නමුත් මේ දේශනාවට ගැලපුවට පස්සේ අපිට තේරෙනවා මේ කාරනා අපිව කොහොමද රකින්නේ කියලා. මේ ගුණ ධර්ම හත කොහොමද ශ්‍රාවකයාගේ ජීවිතය රකින්නේ. පරිස්සම් කරන්නේ. වැටෙන්න නොදී අභ්‍යන්තරත් බාහිර පැත්තෙනුත් වසංගතයෙනුත් වෙස්වලාගෙන එන සතුරන්ගෙනුත් හැම පැත්තෙන්ම අපිව පරිස්සම් කරන්නේ කොහොමද කියන එක මේ දේශනාවෙ උපමාවට ගලපද්දී අපිට පැහැදිලී. එහෙනම් ඒක බොහොම වැදගත් දෙයක් බුදුරජාණන් වහන්සේගේ ධර්මය පුරුදු පුහුණු කරන ශ්‍රාවකයෙක් විදියට අපි අහල තියෙන ගුණ දර්ම හතක් වුනත් මේ විදියට තේරුම් ගත්තොත් අපිට අවශ්‍ය අපේ ජීවිතයට මේක ගලපා ගන්න හැටි තේරුම් ගන්නයි. ඒ නිසා නගරයට උපමා කල මේ දේශනාවේ ආරක්ෂිත කරුණු හත මෙහෙමයි අපිට ගලප ගන්න තියෙන්නේ කියල තේරෙනවා.

දැන් අපි හිතමු නගරයක් මේ ආකාරයෙන් ආරක්ෂා වුනා. සතුරෝ මොකද කරන්නේ, සතුරා දැන් පහර දෙන්නේ නැහැ. හැබැයි වට කරගෙන ඉන්නවා. වටකරගෙන ඉන්නේ මොකද? අවස්ථාවක් එනකම්.

අභ්‍යන්තරය දුර්වල වෙනකම් බලාගෙන ඉන්නවා. දැන් සමහර විට ඔබ අහලා ඇති මේ විදියට එක්තරා සේනාවක් බලකොටුවක් වට කරලා අල්ලගන ඉන්නවා. අන්තිමට ඇතුළේ ඉන්න අයට එළියට රන්නත් බෑ එළියේ ඉන්න කෙනෙකුට උදවු කරන්න ඇතුළට එන්නත් බෑ. ඇතුලෙ තියන කෑම බීම ඔක්කෝම ඉවර වෙලා කොටුව ඇතුලෙ හිටපු බළල්ලු ටිකත් මරාගෙන කෑවා කියලා. අහලා ඇති මේ පෘතුග්‍රීසි ලන්දේසි කාලේ වෙච්ච දෙයක්. බළල්ලුත් මරාගෙන කාලා තියෙනවා. එතකොට මේ සේනාව ඇවිල්ලා වටකරගත්තොත් අපිව අභ්‍යන්තරයේ කෑම බීම හරියට තිබුනේ නැත්කම් ටික කාලයක් යනකොට කෑම බීම ඉවර වුණාට පස්සේ මොකද වෙන්නේ දුර්වල වෙනවා. දුර්වල වුණු ගමන් අභ්‍යන්තර දුර්වලතාවය ප්‍රයෝජනයට අරගෙන දැන් පහර දෙන්න පුළුවන්. එතකොට ඉතින් දෙරටුපාලයාටත් කන්න නෑ. එහෙනම් අභ්‍යන්තරයේ ආහාර ජාති හතරක් තියෙන්න ඕනේ. ඒ ආහාර ජාති හතර තමයි පලවෙනි ආහාර වර්ගය බුදුරජාණන්වහන්සේ වදලා තණ කොළ සහ ජලය. ඇතුලේ ප්‍රමානවත් පරිදි දිගටම නොනැසී පවතින තණ කොළ හා ජලය තියෙන්න ඕනේ. ජල උල්පත් ජල පැන්

පොකුණු නිතර වැවෙන තණ පිට්ටනි මේ නගර සීමාව ඇතුලේ තියෙන්න ඕනේ. එතකොට සෑහෙන විශාල නගරයක් මේ කියන්නේ. ඇයි මේ තණ කොළ ජලය? සත්තුන්ට කන්න දෙන්න. ඇයි අශ්ව සේනාවක් තියෙනවා, ගවයෝ ඉන්නවා, එළු බැටළුවෝ ඉන්නවා වෙන්න පුළුවන් සේනාවට කිරි දෙන්න එතකොට ඒ නිසා මේ සත්තුන්ට කන්න දෙන්න. ඊළඟට මිනිසුන්ටයි සත්තුන්ටයි බීම පිණිස ජලය. ඊළඟට දෙවෙනි වර්ගය තමයි මේ යව වර්ග වගේ සත්ව ආහාර. තුන්වෙනි ආහාර වර්ගය තමයි සහල් මුං මෙනේරි වගේ මේ මිනිස් ආහාර. හතරවෙනි ආහාර වර්ගය තමයි ඖෂධ වර්ග. මෙන්න මේ ආහාර ජාති හතරම නගරය ඇතුළේ හොඳට තියෙනවා නම් මැරෙනකම් සෙබළු ටික යටකරන් හිටියත් නගරේ අභ්‍යන්තරය දුර්වල වෙන්නේ නෑ. එතකොට සෙබළුන්ටම එපා වෙලා සෙබළු යන්න යනවා. මේක බුදුරජාණන්වහන්සේ උපමා කළා ශ්‍රාවකයගේ ජීවිතේට. ශ්‍රාවකයාගේ ජීවිතෙත් අභ්‍යන්තර ආහාර සකසාගෙන තිබිය යුතුයි. අභ්‍යන්තර ආහාර තිබුන් නැත්නම් නාලයත් එක්ක දුර්වල වෙනවා. දුර්වල වුණ ගමන් පහර දෙන්න ලේසියි. කොහොමද අභ්‍යන්තර කෑම බීම ටික ඉවර වෙන්නේ? අභ්‍යන්තර රැකවරණය පිණිස අපට ලැබුණු කෑම බීම ටික මොනවද? බුදුරජාණන්වහන්සේ දේශනා කළා ශ්‍රාවකයෙක් විසින් අභ්‍යන්තරයේ ආරක්ෂාව පිණිස ආහාර ජාති හතරක් හදගන්න ඕනේ. ඒ තමයි පළමු ධ්‍යානය, දෙවන ධ්‍යානය, තුන්වන ධ්‍යානය, හතරවන ධ්‍යානය. මේ ධ්‍යාන හතර තිබුනේ නැත්නම් මොකද වෙන්නේ? ඇයි දැන් මෙයා සතිපට්ඨානය දියුණු කරනවා, ප්‍රඥාව වඩනවා, වීර්ය කරනවා, දහම් දැනුමක් තියෙනවා, ඊළඟට ශ්‍රද්ධාවන්තයෙක්, ලැජ්ජා බය තියෙනවා. මේ ආහාර හතර නැත්නම් කොහොමද මේ හත තියෙද්දිත් දුර්වල වෙන්නේ? ඔන්න අපි හිතමු මේ ශ්‍රාවකයා දැන් ඔය පළවෙනි කාරණා හත ආරක්ෂා කරගෙන කාලයක් ඉන්නවා. ධ්‍යාන හතර නෑ. කාලයක් ඔහොම ඉන්නකොට මේ ශ්‍රාවකයට මොකද වෙන්නේ? මෙයා වයසට යනවා. ඊළඟට ලෙඩ වෙනවා. මරණාසන්න වෙනවා. ඊළඟට පින ගෙවී ගිහින් පරණ අකුසල් විපාක නිසා එක එක ලෙඩ රෝග මතුවෙනවා. පින ගෙවී ගිහින් අකුසල් විපාක නිසා වයසට ගිහිල්ලා සාමාන්‍ය විදියට නාකි වෙනවා නෙවේ. වයසට යාම නිසා ඇතිවන විවිධ අපහසුතා ඇතිවෙනවා. කොන්දේ අමාරු එන්න පුළුවන් වාත අමාරු එන්න පුළුවන්. සමහර වෙලාවට බරපතල පිළිකා වගේ අසනීප එන්නත් පුළුවන්. දැන් මෙහෙම වෙනකොට අභ්‍යන්තරයේ පෝෂණයට තිබුණු පින සැපය පරිහානියට පත්වෙනවා. පින සැප පරිහානියට පත්වෙනකොට කායික වේදනාව ප්‍රබලව ඉස්මතු වෙනවා. ප්‍රබලව කායික වේදනාව ඉස්මතුවෙද්දී එක යට පත් කරන්න පුන්‍ය ශක්තියෙන් ඊළඟට නීරෝගී

භාවයෙන් තරුණ භාවයෙන් තිබුණු කැම ටික දූන් ඉවරයි. ඒ කාය වේදනාව පෝෂණය කරන්න සම්පූර්ණයෙන්ම ලෙඩ රෝග, වයසට යාම දූන් මේ මොහොතේ වැඩකරනවා. හොඳට ධර්මයේ හැසිරි හැසිරී හිටි කෙනෙක්. දැන් මෙයාට කලින් වගේ නිදහසේ ශ්‍රද්ධාව රැකගෙන ඉන්න ටිකක් අභියෝගයක් එනවා. ලැජ්ජාව බය රැකගන්න අභියෝගයක් එනවා. විශාල කායික වේදනාවක් එනවා. අපි හිතමු ඔන්න මේ කායික වේදනාවත් එක්ක මේ වෛද්‍යවරයෙක් කියනවා අපි හිතමු ස්වාමීන්වහන්සේනමක් කියලා, ඔබ රාත්‍රියට අහාර ගන්න කියලා නියම කරනවා. දූන් ඒක ජය ගන්න කාය වේදනාව යටපත් කරන්න අහාර නෑ. එතකොට ඔන්න අභියෝගයක් අවා. දැන් ඔන්න කාය ශක්තිය දුර්වල වෙනවත් එක්ක මානසිකවත් ඕක බලපානවා. එතකොට ටික ටික මතකය එහෙ මෙහෙ වෙන්නත් ඉඩ තියෙනවා. ඒ නිසා මේ දුර්වලතාවයත් එක්ක සතිපට්ඨානයත් කාලයක් පිහිටුවාගෙන ඉඳලා, දූන් බලන්න මේ අනේපිඬු සිටුතුමාට අන්තිම මොහොතේ අපු වේදනාවත් ගැන උපමා කිහිපයක් තියනවා. විශාල කඹයක් අරගෙන හිස වටේ ඔතලා ශක්තිමත් මිනිස්සු දෙන්නෙක් දෙපැත්තට කඹේ අදිනකොට හිස තෙරපෙන්නේ යම් සේද අන්න ඒවාගේ වේදනාවක් මට ඇති වෙනවා කියලා අනේපිඬු සිටුතුමා කියනවා. ඊලඟට තියුණු කඩුවක් පිහියක් අරගෙන කුස කැලි කැලි වලට කපනකොට තියම් වේදනාවක් එනවාද ඒ වගේ වේදනාවක් කුසෙන් එනවා කියනවා. මේ කියන්නේ මරණාසන්න වේදනාව ගැන. මරණාසන්න වෙලාවේ දූන් අපි ගත්තොත් වාහානයක වුනත් තෙල් නැතිවුණු ගමන් ඔබ දූකලා ඇති එන්ජිම ගැස්සිලා ගැස්සිලා තමයි නවතින්නේ. පහනක් වුනත් තෙල් නැතිවෙනකොට දඟලලා දඟලලා තෙල් නැති හොයලා හොයලා අන්තිම තෙල් බිංදුවත් නැති නිසා නිවිලා යනවා. අන්න ඒ වගේ මේ කය මේ බඩවැල් ආදිය ඊළඟට හිසට ලේ නැති වීම මේ විවිධාකාර වේදනාවන් නිසා බරපතල විදියට විඳවන්න සිද්ධ වෙනවා මරණාසන්න වෙලාවේ. මරණාසන්න විඳවීම අපි ගොඩක් දෙනෙක්ට මතක නෑ. ඒකට හේතුව සංසාරේ පුරාවටම සිහිමුලාවෙලා මැරිලා තියෙන නිසා. ඒකයි මතක නැත්තේ. මරණාසන්න වේදනාව ගැන මේ දේශනාවන් වලින් තේරුම් ගන්න ඕනේ. ඒක හොඳටම මම නම් තේරුම් ගත්ත එක දේශනාවක් තමයි සුදස්සන රජ්ජුරුවෝ මරණයට පත්වුන වෙලාව. හා සුදස්සන රජ්ජජුරුවෝ මරණයට පත්වෙද්දී මහා පුන්‍ය සම්භාරයක් මහා පුන්‍ය ශක්තියක් කිබුණු කොනෙක්. අධික ආයුෂ තිබුණ කෙනෙක්. අධික සැපයක් තිබුණ කෙනෙක්. මරණාසන්න වේදනාවක් දූනිලා තියෙනවා. කොහොමද දූනුනේ දූන් හොඳට කාපුවාම ඇඟ පණ නැතිවෙලා බත් මතයක් එන්නේ. බත් මතයත් එක්ක නින්ද යනවා. මුකුත් කරගන්න

බැරුව අත පය හොල්ල ගන්න බැරුව කාපු ගමන් දඩස් ගාලා ගිහින් වැටෙන්නේ, ඇඟ අප්‍රාණික වෙන නිසා. අන්න ඒ වගේ බත් මතයක් ඇතිවෙනවා හා සමාන වේදනාවක් සුදර්ශන රජ්ජුරුවන්ට ඇතිවෙලා නින්ද ගියා හා සමානව මැරිලා අවදි වුණා හා සමානව ඉපදිලා තියෙනවා. සුදස්සන රජ්ජුරුවන්ට බත් මතය වගේ වේදනාවක් දැනුනා නම් සක්විති රජකම තියා, ජනාධිපති කම තියා, අගමැතිකම තියා, පළාත් සභා ඇමති කෙනෙක් වත් වෙන්න බැරිනම් අඩුම තරමේ ගෘහ මූලික වත් වෙන්නේ නැති කෙනෙක්, එච්චර ඕනේ නෑ මං කියන දේ අනිත් අය අහන්නේ වත් නෑ. සත පහකට ගණන් ගන්නේ නෑ. එච්චරවත් අධිපති භාවයක් නැති කෙනෙක් කොහොම මරණාසන්නව විඳවයිද? සුදස්සන රජ්ජුරුවන්ට එච්චර පින තිබිලත් අංශුමාත්‍ර විදීමක් හරි ඇතිවුනා නම් මරණාසන්න මොහොතෙදී අන්න ඒ වගේ අවස්ථාවකදී අභ්‍යන්තර කෑම ටික තිබුණේ නැත්තම් විශාල ප්‍රශ්නයක්. ඔබ අහලා ඇති රහතන්වහන්සේලා පිරිනිවන්පාද්දී ධ්‍යාන වලට සම වැදිලා පිරිනිවන්පෑවා කියලා. බුදුරජාණන්වහන්සේ පිරිනිවන්පාද්දී ධ්‍යාන වලට සමවැදිලා පිරිනිවන් පෑවා කියලා. ධ්‍යාන හතර තමයි ආරක්ෂාව අභ්‍යන්තර අහාර හතර දැන් ඔබ අහනවනේ ස්වාමීන්වහන්ස ධ්‍යාන වඩන්න ඕනෙද? මොකක්ද ඔය අහන්නේ කෑම ඕනෙද කියලා ඔය අහන්නේ කෑම කන්න ඕනෙද? අපි බඩගින්නේ හිටියට කමක් නැද්ද? බඩගින්නේ මැරුනට කමක් නැද්ද? එක නෙවේද මේ අහන්නේ? එක තමයි අහන්නේ. එතකොට එහෙනම් උත්තරේ කවදාවත් ප්‍රශ්නයක් අහනේ නැති මට්ටමට හිතේ තැම්පත් වෙන්න ඕනේ. ඒ තමයි ධ්‍යාන හතර කියන්නේ මොකක්ද? ආහාර හතර අභ්‍යන්තරයේ මහා කායික වේදනාවක් තියනවා. විතර්ක විචාර ප්‍රිති සුඛ එකාග්‍රතා සහිත පළමු ධ්‍යානය, එහෙම නැත්නම් විතර්ක විචාර සන්සිඳවපු දෙවන ධ්‍යානය, නැත්නම් සුඛ සහගත තෙවන ධ්‍යානය, නැත්නම් උපේක්ෂා සහගත හතරවන ධ්‍යානය උපදවාගෙන ඒ ප්‍රීතිය සැපය කය පුරා පතුරවාගෙන ඉන්න පුලුවන්නම්, හිරි වැටිම් පවා දැනේන්නැති මට්ටමට එක යටපත් වෙලා තියනවානම්, කායික වේදනාවන් දැනෙයිද? දැනේන්නේ නෑ. අපිට ගොඩක්ම දැනේන්නේ බහිර ශරීරයේ වේදනාවද අභ්‍යන්තර ශරීරයේ වේදනාවද ගොඩක්ම අපි දැනෙනවා කියලා හිතාගෙන ඉන්නේ බාහිර ශරීරයේ වේදනාව. ඒ උනාට විඳවන්න අමාරුම අභ්‍යන්තර වේදනාවයි. දැන් ඔබේ ඔළුව වැදිලා තුවාල වුනොත් ඕක කොහොම හරි අතේ තියාගෙන හරි ඉඳියි. ඔළුව කැක්කුමක් ආවොත් ඔළුව උස්සන් ඉඳියිද? ඊළඟට බඩට කවුරුහරි ගැහුවොත් බඩ අල්ලගෙන ඉඳියි. අභ්‍යන්තරයෙන් ලොකු දැවිල්ලක් එක්ක බඩේ වේදනාවක් ආවොත් ඕක ඉවසගන්න පුළුවන්ද? එකට හේතුව මේ ඇඟ ඇතුළේ අභ්‍යන්තර වේදනාව ඉවසන්න අමාරුයි මනුස්සයෙකුට. ඒකෙන් අපිට එක

සාක්ෂියක් තියනවා. ඒ තමයි කය ස්පර්ශ කරපුවහම පහසක් දනේනවා වගේම කයේ අභ්‍යන්තර අවයව වලටත් පහස දනෙනවා. ඒකයි ඔය බඩ දැවිල්ල, පපුව රිදීම වගේ දේවල් දනෙන්නේ. ඒ කියන්නේ අභ්‍යන්තර අවයව කීයක් තියනවාද? දැන් බාහිරින් එකයි දෙකයි අපට අහුවෙන්නේ අභ්‍යන්තරයේ අවයව තිස් දෙකක් තියනවා. ඕකෙන් අඩුම තරමේ අවයව විස්සකට හරි වේදනාවක් දනෙන්න පටන් ගත්තොත් එක වතාවක කොච්චර අමාරුවක් දනේවිද ඇඟට? පිට පැත්තෙන් ඇඟට තුවාල වෙනකොට වේදනාවක් දනෙනවා. අභ්‍යන්තරයේ බඩවැල් කුණුවෙලා, පපුව කුණුවෙලා, මොළෙයෙන් වේදනාවක් එනකොට, ඇටකටු වලින් වේදනාවක් එනකොට, කොච්චර අභ්‍යන්තර වෙදනාවක් දනෙනවාද? මෙන්න මේ වෙලවට තමයි කෑම නැති උනා කියන්නේ. දැන් ඇතුළේ කෑම තියෙන්න ඕනේ. මේ කෑම නැති වුණ වෙලාව හොඳට උපයෝගි කරගෙන සිහිය කයෙන් ඉවතට දානවා. වේදනාවෙන් බොහොම ලේසියෙන් කඩගෙන එනවා, සිත කඩාගෙන එනවා, අකුසල් නීවරණ හදගෙන එනවා. අකුසල් ටික ඊට පස්සේ ප්‍රහාරයට ලක් වෙනවා. ඒ නිසා අභ්‍යන්තර ආහාර හතර ඒකාන්තයෙන් ඇතිකරගත යුතුයි. ඒක අරමුණක් කරගන්න ඕනේ. ඒ තමයි මම අභ්‍යන්තර බාහිර කායික වේදනාවන් ඇතිවෙලා, මගේ කෑම ටික නැතිවෙලා, පින ගෙවිලා. හොඳට හිතන්න ඕනේ මේ රසවත් කෑම බීම කන්න ලැබෙන්නේ  පින තියනකම්. පින තමයි අපේ කෑම. නැතුව මේ හාල් පිටි සීනි නෙමෙයි කෑම කියන්නේ. පින නිසයි අපට කන්න ලැබෙන්නේ. රසවත් අහාර ලැබෙන්නේ මොකක් නිසාද? පින නිසා ලැබෙන්නේ. එතකොට පින ගෙවිලා යනවා කියන්නේ ඔන්න රෝග මතුවෙනවා. ඊට පස්සේ ඔබ හොඳට බලන්න මේවා මතක තියාගෙන වයෝවෘධ අන්තිම කාලේ ජීවත් වෙන අය දිහා. කන්න දෙන්න තියෙන්නේ වතුර වාගේ දිය කරලා. ඇයි ලොකු දෙයක් කන්න තිබුණොත්. ඒ පුණ්‍ය ආහාරය ගෙවිල ගිහිල්ලා. ඒ පුණ්‍ය විපාක ආහාරය. දැන් වතුර ටිකක් බොන්න විතරයි පින තියෙන්නේ. ඔය පිනත් ඉක්මනටම ගෙවිලා යනවා.වතුර ටිකවත් යන්නේ නෑ දැන්. ඊට පස්සේ දන්නවා ඒකාන්තයෙන් දැන් පුණ්‍ය විපාක ආහාර නෑ. ආයුෂය ගෙවිලා වර්ණය ගෙවිලා කාය බලය ගෙවිලා ගිහිල්ලා සැපය ගෙවිලා ගිහිල්ලා දැන් ආහාර නෑ.  දැන් මැරෙන්න පුළුවන්. ඒ නිසා අභ්‍යන්තර ආහාර සකසාගෙන තිබුණනම් නිරාහාරව සිටියත් පුණ්‍ය ආහාර ඉවර වුණත් ධ්‍යාන සමාපත්ති ආහාර ටික තියෙනවා තමන් ලඟ. එයට සම වැදී සුවසේ වාසය කරන්න පුළුවන් අන්තිම දින කීපය හරි. අන්න ඒ කෙනා අන්තිම තැනටත් ආරක්ෂාව හදගත්ත කෙනෙක්. ඒ කෙනාටයි බුදුරජාණන්වහන්සේ වදලේ අභ්‍යන්තර ආහාර හතර නොඅඩුව තැන්පත් කරගෙන ආරක්ෂාව හදගත්ත කෙනා කියලා. එතකොට

දැන් මේ දේශනාව ශ්‍රාවක ජීවිතයක් ගොඩනගාගන්න උපකාරී වෙනවද නැද්ද? බොහෝම උපකාරියි මේ දේශනාව. මේ දේශනාව අහලත් ඇති. එතකොට බලන්න අපි අහලා තියෙන දේශනා අපි කොච්චර අපේ ජීවිතේට ගලපාගෙන නැද්ද කියලා. ඒ නිසා මේ දේශනාව තමන්ගේ ජීවිතේ හොඳට පුරුදු පුහුණු කරන්න ඕනේ. පුරුදු පුහුණු වුනේ නැත්නම් මේ දේශනාව තමන් නිරාහාරව මැරෙන කෙනෙක් වගේ. ශ්‍රද්ධාව හිරි ඔතප්ප දහම් දැනුම වීර්ය නැති අන්ත අසරණ කිසිදු රැකවරණයක් නැති කෙනෙක් වගේ. මට උපමාවක් කියන්න ඒ පුද්ගලයාට කියන්න පුළුවන් තනි වචනයක්. ශ්‍රද්ධාව නැති හිරි ඔතප්ප නැති දහම් දැනුමක් නැති වීර්යයක් නැති සිහියක් නැති ප්‍රඥාවක් නැති පුණ්‍ය ආහාරත් නැති ධ්‍යාන ආහාරත් නැති පුද්ගලයා කවුද? අශ්‍රැතකත් පෘතජන දුප්පත් දිළිඳු අසරණ රෝගී උන්මත්තක කෙනෙක්. එතකොට මේ පුද්ගලයා දැන් තියනවානේ සබ්බේ පෘතජනා උන්මත්තකා ඒ කියන්නේ මොකක්ද? සියළු පෘතජනයෝ උන්මත්තකයෝය. එතකොට අශ්‍රැතවත් පෘතජන කියන තනි වචනය තුළ රෝගී දිළිඳු අන්ත අසරණ ඉන්න හිටින්න තැනක් නැති උමතු කන්න බොන්න නැති බොහෝම අසරණ ස්වභාවයක් අශ්‍රැතවත් පෘතජන කියන වචනය තුළ තියෙනවා. ඔබ කැමතිද ඒ වචනයෙන් ඔබව හඳුන්වනවට? අකමැති විය යුතුයි. අශ්‍රැතවත් පෘතජන කියන වචනය ඔබ තාමත් ඔබට භාවිතා කරනවා නම් බය වෙන්න ඕනේ, ලැජ්ජා වෙන්න ඕනේ ඇඬුවත් කමක් නෑ. මොකද ඒ තරම් අන්ත අසරණ ඒ තරමටම වැඩක් නැති චරිතයක්. ඒ නිසා අශ්‍රැතවත් පෘතජන භාවයෙන් නිදහස් වෙලා ශ්‍රැතවත් ආර්ය ශ්‍රාවකයෙක් වෙන්න ඕනේ නම් මේ අංග එකොළහ ඇතිකරගන්න ඕනේ. ඒ අංග එකොළහ හරියට මතකද ඔබද? ශ්‍රද්ධාව, හිරි, ඔත්තප්ප, ශ්‍රැතය, වීර්ය, සතිය, ප්‍රඥාව, පළමු ධ්‍යානය, දෙවන ධ්‍යානය, තුන්වන ධ්‍යානය, හතරවන ධ්‍යානය. මේ අංග එකොළහ හොඳට මතක තියාගෙන අනුපිළිවෙලින් පුරුදු පුහුණු කළානම් එකේ ඉඳලා හතටත් එකේ ඉඳලා හතරටත් පුරුදු කළානම්, කාලයක් යයි මේක පුරුදු පුහුණු කරන්න. මේ පුරුදු කරන ශ්‍රාවකයාට තියනවා ඊට පස්සේ තමන් විසින් මේ ආර්ය සත්‍ය මෙනෙහි කරමින් ලැජ්ජාව භය ආදී දේවලින් ආරක්ෂාව සපයාගෙන ධ්‍යාන සමාපත්තිය උපදවාගෙන යන නිසා සමාධිය මුල් කරගෙන යථා භූත ඥාණ දර්ශනය උපදිනවා. අන්න එදාට චතුරාර්ය සත්‍ය සත්‍යයක් යැයි සත්‍ය ඥනයට පත් වෙන දවස වෙනකොට ලෝකෝත්තර සම්මා දිට්ඨියට මේ ශ්‍රාවකයා පත් වෙනවා. එතකොට දැන් අපි තියෙන්නේ ලෞකික සම්මා දිට්ඨියට පත් වෙලා නියත මිත්‍යා දෘෂ්ඨියෙන් මිදීමත් සමඟ ලෞකික සම්මා දිට්ඨියේ ඉඳගෙන ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත් විමටත් මේ කාරණා එකොළහ පුරුදු පුහුණු කිරීමයි. මෙය පුරුදු පුහුණු

කළොත් ඔබ මේ ජීවිතයේදි යම් දවසක එකොළොස් වෙනි අංගය දක්වාම පුරුදු පුහුණු කළොත් බුදුරජාණන්වහන්සේ වදාළා අන්න ඒ ශ්‍රාවකයාගේ ශ්‍රාවක ජීවිතයට මේ පවිටු මරයාටවත් අකුසල සේනාවටවත් පහරක් දෙන්න බැ කියලා. හරියට අර සතුරු සේනාවක පහර කන්නේ නැති අරක්ෂිත නගරක් වගේ. ඉතින් බුදුරජාණන්වහන්සේයි මේ කාරණය වදළේ. පුරුදු පුහුණු කරන්න තියෙන්නේ අපිටයි. නගරය හදන හැටි ගැන තියනවා. නගරය ආරක්ෂා වෙන හැටි ගැන තියනවා. අනතුරු නොවෙන හැටි ගැන තියනවා. එතකොට දැන් අපිට බාධයි කිය කියා ඉන්න ප්‍රශ්නෙටත් උත්තරය මේකේ තියනවා ඒ තමයි බාධක ජයගන්න නගරයක් ඔබ තුළින් ඔබ ගොඩනගා ගන්න මහන්සි ගන්න ඔනේ. මේ නගරය හා සම්බන්ධ දේශනාව තියෙන්නේ අංගුත්තර නිකායේ හතර වෙනි කොටසේ නගරූපම කියන සූත්‍ර දේශනාවේ. මේ දේශනාව තමන්ගේ ජීවිතයට ගලපාගෙන, ගොඩනාගා ගත්තේ නැති අභිමානවත් ශ්‍රාවක චරිතය ගොඩනගාගෙන, මේ ගෞතම බුදු සසුන තුළදීම ලෝකෝත්තර සම්මා දිට්ඨියට පත්වී උතුම් නිවන සාක්ෂාත් කරගන්නට සියලු දෙනාටම වසනාව උදා වේවා...!

සාදු සාදු සාදු.....!